රාජ්‍ය සම්මාන දිනූ විද්‍යා නවකතාව

# හාවි දූපත

එච්.ජී. ජයසුමන

## පෙරවදන

මෙම විද්‍යා නවකථාව ලියන ලද්දේ 6, 7, 8 වැනි වසර වල ඉගෙනගන්නා ළමුන්ගේ විද්‍යාව දැනුම වර්ධනය කරලීමට උදව්වක් වශයෙනි. එහෙයින්, එම වසර විද්‍යා විෂය නිර්දේශවල අඩංගු මාතෘකා කීපයක් මෙහි සාකච්ඡාවට භාජන කර ඇත. කතාන්තර මගින් ඉගැන්වෙන දේවල් ළමා සිත් වල වඩාත් හොඳින් තහවුරු වන බව අධ්‍යාපනඥයින්ගේ පිළිගැනීමයි.

මෙම පොත බිහිවීම සම්බන්ධ ගෞරවයෙන් වැඩි කොටස හිමිවිය යුත්තේ ශ්‍රී ලංකා උපාධිධාරී කාන්තා සංගමයටය. එම සංගමය මගින් පවත්වන ලද ළමාපොත් තරගය නිසා නොවේ නම්, මෙම පොත බිහිනොවීමට ඉඩ තිබුණි. අපේ ළමා පරපුර වෙනුවෙන් ශ්‍රී ලංකා උපාධිධාරී කාන්තා සංගමයෙන් සිදුවන සේවය නව නවන් පුළුල් වනු ඇතැයි බලාපොරොත්තු වෙමු.

මෙම පොත ප්‍රකාශනය භාරගත් සීමාසහිත ඇම්. ඩී. ගුණසේන සහ සමාගමට මගේ ස්තූතිය පිරිනමමි.

එච්. ජේ. ජයසුමන

අනුරාධපුර මධ්‍ය මහා විද්‍යාලය
අනුරාධපුර

# පාළු දූපත

---

සොහොයුරු සොහොයුරියන් හතර දෙනෙකු-ගෙන් යුත් පවුලක බාලයා මමය. මගේ නම තන්දන ය. මා අනුරාධපුර මධ්‍ය මහා විද්‍යාලයේ නව වැනි ශ්‍රේණියේ උගනිමින් සිටියදීය ඒ තීරණාත්මක දිනය උදාවූයේ.

එද සඳුද දිනයකි. සිරිත් පරිදි පාසැල් ගිය මම වෙනදා මෙන් පාසැල ඇරී ගෙදර යාම සඳහා අනුරාධපුර බස්නැවතුම් පොලට යමින් සිටියෙමි. මා ගමන් කළේ අනික් ළමුන්ට පසුව, හත්වමය. මා යන පැත්තටම ගමන් කරමින් සිටි මෝටර් රථයක් හදිසියේම මා අසල නතරකොට, ''පුතා නගින්න අපි ගෙදරට ඇරලන්නං. අපි යන්නෙත් ඒ පැත්තටම තමා''යි කියමින් රථයේ පිටුපස අසුනෙහි සිටි කාරුණික පෙනීමකින් යුතු තලතුනා පුද්ගලයෙක් දොර අරිමින් මට ඇරයුම් කළේය. ඔහු තාත්තාගේ යහළුවකු වන්නට ඇතැයි සිතූ මම [illegible] කැමැත්තෙන් රථයට නැගුණෙමි. ඔහුගේ සිත් අදනා පෙනුම හා මොළොක් වචන නිසා එවෙලේ මට කිසිම සැකයක් ඇති නොවීය

මොහොතක් ගතවිය. මගේ අසුනෙහි පසෙකින් තිබුණු ලස්සන මල් පොකුරක් වෙත මගේ නෙත් යොමු විය. ''ලස්සනයි නේද පුතා. බලන්න මේවයෙ සුවඳ''යි කියමින් ඔහු මල්පොකුර ගෙන මගේ නැහැයට කිට්ටු කළේය. ඒ සමගම මගේ ඔලුව කැරකීගෙන එන්නාක් මෙන් දැනුණි. ඉන්පසු කුමක් වූයේදැයි මට මතකක් නැත.

මට ඇහැරෙන විට මා සිටියේ නුපුරුදු ලෝකයකය. ඇඟපතට මහත් අප්‍රාණික බවක් දැනිණ. මට සිහිනයක් පෙනෙන්නාක් බඳුය. බෑළගට ඇරුණු දෙනෙතින් මම වටපිට බැලීමි. මුලින්ම පෙනුණේ පොල්අතු වහලකි. ඊළඟට පොල්අතු වලින් ආවරණය කළ බිත්තිය. මා මේ සිටින්නේ පොල්අතු මඩුවක බව දැන් පැහැදිලිය. මම යන්තම් නැගිසිට මා සිටි බූරු ඇඳේම වාඩිවී විපරමින් වටපිට බැලුවෙමි. පෙනෙන මානයක කිසිවෙක් නැත. තනිකම සමග බියද ක්‍රමයෙන් සිතට රිංගයි.

මඩුවේ එක් කොනක ඇඳ තිබි ලණුවක කිලිටි රෙදි වගයක් වනා ඇත. මුල්ලක බිම ඇතිරූ පොල්අතු මත මුනින් නමා ඇති හට්ටිවළන් ගොඩකි. කබල් ලන්තෑරුමක් පොල්අතු බිත්තියේ කෝටුවක එල්ලා ඇත. ලිපෙන් තවම දුම් නැගෙයි. ලිප අද්දර බාල්දියක් හා ලොකු මන්නා පිහියකි. හිරමණයක් හා බෙලෙක් [illegible]හන් ගොඩක් තවත් මුල්ලක පෙනේ. තවම නිදිමත පහව නොගිය මට උගුර වේලුණු ගතියක් හා තද පිපාසයකුත් දැනෙයි. බීමට කිසිවක් ඇද්දැයි සොයමින් මගේ දෙනෙත් මඩුව පුරා දුවන්නට විය.

බූරු ඇඳ යට තිබුණු කුරුම්බා ගෙඩි දෙකක් මගේ දෙනෙත් වලට අසුවිය. කවුරු කුමකට ගෙනැවිත් තිබුණත් කමක් නැතැයි සිතූ මම එයින් එකක් එළියට ඇදගෙන කපා බීගෙන බීගෙන ගියෙමි. එයින් ඇඟට ලොකු සිසිලක් හා ප්‍රාණවත් ගතියක් දැනෙන්නට විය. නිදිමතද වහා පහව ගියේය. මම නැවතත් බූරුඇඳේ දිගාවී උඩ බලාගෙන, සිදුවී ඇත්තේ කුමක්දැයි තේරුම් ගන්නට වෑයම් කළෙමි.

මා මේ සිටින්නේ කොහේද? මෙහාට පැමිණියේ කෙසේද? දැන් වේලාව උදේ දහයට පමණ ඇතැයි වටපිටාවෙන් ඇහෙයි. මා අවසන් වරට පාසැල් ගියේ ඊයේ උදේ බව මට මතක් විය. ඊයේ පාසැල ඇරී යන අතර මා මෝටර් රථයකට නංවාගත් හැටිත්, එහි සිටි තලතුනා පුද්ගලයකු මගේ නැහැයට මල්පොකුරක් ඇල්ලූ හැටිත් මට මතක් විය. එතැන් සිට සිදුවී ඇත්තේ කුමක්දැයි දැන් මට වැටහේ. මගේ මුහුණට අල්ලන්නට ඇත්තේ සිහිනැති කරන බෙහෙත් මිශ්‍ර මල්වගයක් විය යුතුය. එම නිර්වින්දක සුවඳ නැහැයට ඇතුල් වීමෙන් මගේ සිහිය නැතිවන්නට ඇත. මා අසා ඇති මෙබඳු සිද්ධි කීපයක් මගේ මතකයට නැගෙයි. පාරේ යනවිට නන්නාඳුනන පුද්ගලයින් සමග කතාබහ නොකර ඉතා කල්පනාකාරීව යා යුතුයයි

අම්මා තාත්තා නොයෙක්වර අපට කියා ඇත්තේ මෙබඳු සිද්ධි නිසා විය යුතුය. බිල්ලන් හා සන්නාසින් යයි කියනු ලබන පුද්ගලයින් පාසල් අසල හැසිරෙමින් කුඩා ළමුන් නොයෙක් ප්‍රයෝගවලින් අල්ලා ගෙන ගොස්, සමහරවිට නිදන් හාරාගැනීම සඳහා බිලිදෙන බවත්, තවත් සමහරවිට කරවල වාඩිවලට ගෙනගොස් වහල්-වැඩ ගන්නා බවත් පුවත්පත්වල මා කියවා ඇත. එසේනම්, මාත් මේ අසුවී ඉන්නේ එබඳු උගුලකටද? මාත් නිදනයක් ගැනීමට බිලිදෙනු ලබාවිද? මගේ සිත බියෙන් පිරීගොස් සිරුර කිලිපොලා යයි. සමහරවිට මා ගෙනෙනු ලැබ ඇත්තේ කරවල වාඩියකටද? අනේ, එසේනම් මගේ පණවත් බේරෙනු ඇත.

මම බුරුඇඳෙන් සෙමෙන් නැගිට, අඩවල් කර තිබුණු පොල්අතු දොර මදක් විවෘතකර වටපිට බැලීමි. හරි, මෙක කරවල වාඩියක්ම වෙන්නට ඕනෑ. තරමක් ඈත තවත් පොල්අතු ගෙවල් කීපයක් එක දිගට පෙනේ. මඩුව ඉදිරිපස තරමක් උසට වැඩුණු කැලෑ රොදකි. මඩුව පිටුපසින් පුළුල් මුහුදුවෙරළ හා නෙරක් නොපෙනෙන මහ මුහුදය. තවමත් පණ ඇති කිසිවකුගේ හෝඩුවාවක් නැත. මනුෂ්‍යයකු තබා බල්ලකු බළලකුවත් ඉන්නා බවට ලකුණක් නැත.

මගේ ප්‍රීතිමත් පාසල් ජීවිතය ඊයෙන් අවසන් උනාද? අදින් ඇරඹෙන්නට යන නොදන්නා අළුත් ජීවිතය කෙබඳු එකක් වේද? අම්මා තාත්තා



අයියලා අක්කලා නැවත කවද දකින්නට ලැබේද? මා කාගේ හරි සදකාලික වහලකු බවට පත්වී ගෙන එනවාද?

ඊයේ අම්මලා මා නැතිව කෙතරම් වැලපෙන්නට ඇද්ද? මා පාසැල ඇරී වෙනද එන වේලාවට ඊයේ ගෙදර නොපැමිණි විට ඔවුන් කෙතරම් කලබල වන්නට ඇද්ද? අම්මා ටික වේලාවක් මග බලා සිට අයියා සමග පාසැලට ගොස්, මා ගැන සොයා බලන්නට ඇත. එද උදේ වෙනද මෙන් මා පංතියේ සිට ඇති බව දැනගත් විට, මා බිල්ලකු විසින් අල්ලාගෙන යන්නට ඇතැයි අම්මලා අනුමාන කරන්නට ඇත. ඊලඟට බස්නැවතුම් පොලට ගොස් සොයා බලා, පසුව අඬ අඬා පොලීසියට ගොස් පැමිණිල්ලක් දමන්නට ඇත. පොලීසිය කුමක් කරන්ට ඇද්ද? සමහරවිට ජීප් එකෙන් ටවුමේ එහාට මෙහාට රවුම් දෙක තුනක් ගසා සෙවීල්ල එතනින්ම අවසන් කරන්නට ඇත. බාගෙවිට රටේ වෙනත් පොලිස් ස්ථාන වලට ගුවන් විදුලි පණිවුඩ මගින් මා ගැන විස්තර දන්වා යවන්නටත් ඇත.

අම්මලා රෑ බෝ වනතුරු ටවුමේ කෙතරම් එහාට මෙහාට දුව පනින්නට ඇද්ද? අක්කලා ගේට්ටුව ළඟට වී කෙතෙක් වේලා පාර දිහා බලාගෙන ඉන්නට ඇද්ද? අම්මා තාත්තාටත්, ගමේ ආච්චීටත්, නුවර මාමාටත්, විදුලි පණිවුඩ යවන්නට ඇති. තාත්තා ගෙදර නැති එකේ පාඩුව මෙවර අම්මාට හොඳටම දැනෙන්නට ඇත.

තාත්තාට කොළඹින් අනුරාධපුරේට මාරුවක් ගන්නටයයි අම්මා කීපවරක් කියනවා මම අහගෙනය. සමහර විට විදුලි පණිවුඩයක් ලැබී තාත්තා ඊයේ රෑ කෝච්චියේම ගෙදර එන්නට ඇත. අපේ ගෙදර ප්‍රශ්න වලදී නිතරම උදව් වන අල්ලපු ගෙදර ගුණවර්දන අන්කල්ලාත් මාව සොයන්නට හුඟක් මහන්සි වන්නට ඇත.

මා පොල්අතු දොරට හේත්තු වූ ගමන්ම අරමුණක් නැතිව ඉදිරිපස වනරොද දෙස බලාගෙන සිටිද්දී, වනරොද මැදින් ඇති කුඩා අඩිපාරෙන් හිටිහැටියේම වයසක මිනිහෙක් මතු විය. ඔහු මඩුව දෙසට කෙළින්ම එයි. මා දුටු ඔහු මුවගට මඳ සිනාවක් මවා ගත්තේය.

''හා ළමය, දූං කොහොමද? කොයි වෙලාවෙද නැගිට්ටෙ?''

මම කතා නොකර අන්දුන්කුන්දුන්ව ඔහු දෙස බලාගෙන සිටියෙමි.

''බය වෙන්න එපා. ඔය ළමයට කිසි වැරැද්දක් වෙන්නෙ නෑ. මෙහේ ඔය වාගෙ ළමයි තව ගොඩක් ඉන්නව.''

ඔහුගේ එම වචන වලින් මගේ බිය තරමක් අඩුවිය. එහෙත් මට කතාකිරීමට තරම් හයියක් තිබුණේ නැත. ඔහු කෙළින්ම මඩුව ඇතුළට ගියේය. මමත් ඔහු පසුපසින්ම ගමන් කළෙමි.

''හා කුරුම්බාවකුත් බීල තියෙන්නෙ

දූං කොහොමද ඇඟට එහෙම?''



ඔහු මුරුඇඳේ වාඩිවිය. මමත් ඔහු අසලින්ම එහි වාඩිවුණෙමි.

''ඇඟට ටිකක් පණ මදි. කවුද ලොකු උන්නැහෙ මාව මෙහාට ගෙනාවෙ? මොකටද ගෙනාවෙ?''

''ඔහ්! ළමයො ඔව්ව ඔහොම තමයි. මේක කරෝල වාඩියක්. ඔය ළමය ගෙනාපු එක් කෙනා දූං මෙහේ නෑ. එයා ඉන්නෙ එහා ගොඩේ. මෙහේ ඉන්න අනික් ළමයිනුත් ඔය වාගෙ තමයි ගෙනැහිං තියෙන්නෙ.''

''තව ළමයි හුඟක් ඉන්නවද ලොකු උන්නැහෙ?''

''ඔව්! ඔව්! හුඟක් ඉන්නව. ළමයි ඔක්කොම විසිහතර දෙනෙක් ඉන්නව. ඒගොල්ල බලාගන්න පුළුවං තව ටිකකිං. දූං දවල්ට බත්කන්න එනව. බය නැතුව ඉන්නකො.''

'' ඒ ගොල්ල දූං කෝ?''

''දූං කරෝල වේලනව අර එහා ඇත්තෙ. මාත් මේ ආවෙ එහේ ඉඳල. මං ආවෙ ඒ ගොල්ලට බත් උයන්න. මට කියන්නෙ ජාතිස් අයිය කියල.''

ඔහු වතුර හැළියක් ලිපේ තබා, මඩුවේ මුල්ලක තිබුණු ගෝනියකින් හාල් ටිකක් හට්ටියකට දමාගෙන මිදුලට ගොස් ගරන්නට විය. මමත් ඔහු පස්සෙන් ගොස් මිදුලේ ඇණතියා ගත්තෙමි.

''ජානිස් අයියෙ, මට මොනව කරන්න දෙයිද? හුඟක් කල් මෙහේ ඉන්ට වෙයිද?

''ළමයො මේක කරෝල වාඩියක්. මං ඉස්සරවෙලත් කිව නෙ? කරෝල වාඩිවල තියෙන වැඩ ඉතිං කරෝල වේලන එක තමයි. ඔය ළමයට අද වැඩ දෙන්නෙ නැහැ. මෙහාට එන කාටත් පළමු දවස නිවාඩු. දෙවෙනි දවසෙ ඉඳල තමයි වැඩ කරන්න දෙන්නෙ. කොච්චර කල් මේකෙ ඉන්නවෙච්ද කියලනං මට කියන්න බැහැ. ඒක දන්නෙ මුදලාලි විතරයි. හැබැයි හොඳට කීකෝරුකමිං වැඩපොල කරගෙන මුදලාලිගෙ හිත දිනාගෙන හොඳිං හිටියොත් බාගෙවිට මුදලාලිගෙං කරුණාවක් ලැබෙන්න පුළුවං. හොඳට විස්සාසවන්ත උනොත් මුදලාලි ගාව එගොඩහිං රස්සාවක් හම්බවෙන්නත් ඉඩ තියෙනව.''

''එගොඩහිං කීවෙ?''

මගේ ප්‍රශ්නය නෑසුනාක් මෙන් ඔහු මඩුව ඇතුළම ගොස් ලිපේ තිබුණු වතුර වලින් කෝපි වත් කරන්නට විය.

''ළමය කෝපි බොනව නේද?''

''බොමු''

ඔහු කෝපි සාද එකක් මට දී ඔහුත් එකක් ගෙන හිරමණය උඩින් වාඩි විය.

''එගොඩහිං කීවෙ එගොඩහිං. අපි මෙගොඩහ කියන්නෙ මේ අපි ඉන්න දූපතට. එගොඩහ කියන්නෙ අපේ රටට. සිරිලංකාවට.''



''ලංකාවෙ කොයි පැත්තට වෙන්නද මේ දූපත තියෙන්නෙ?''

''අනේ ළමයො ඒකනං කියන්නෙ නෑ. කොයි පැත්තෙං උනාම අපට මොකෝ? පැත්තයි දුරයි එනකොට මෙහාට යන එන හැටියි ඔච්චර අහන්න එපා. ඒවා තහනං.''

''මුදලාලි ඉන්නෙ කොහේද?''

''ඒකත් තහනං. මුදලාලි හරි හොඳ මනුස්සයා. එයා මෙහාට එන්නෙ සුමානෙකට එක වතාවයි. ඒ එනකොට අපට ඕන කරන බඩු-මුට්ටු අරං එනව. යනකොට කරෝල පටවාගෙන යනව.''

හාල් ලිපේ තැබූ හෙතෙම වට්ටක්කා මාළුවක් උයන්නට සූදානම් කරයි.

''ජානිස් අයිය කොහොමද මෙහාට ආවෙ? මං වගේ සිහිය නැතිකරල අල්ලගෙන ආවද?''

''අපෝ නැහැ. මං ළමයො මෙහාට එන්න ඉස්සරවෙලත් මුදලාලි ගාව වැඩකරපු මිනිහෙක්. මාව මෙහාට එක්කං ආවෙ විස්සාස තමට. මට හොඳ පඩියක් දෙනව. මං තමයි මේක බලා කියාගෙන ඉන්නෙ. වෙන වාඩිවල වගේ මම ළමයිංගෙං වාල්වැඩ ගන්නෙ නැහැ. මං ළමයිංට හොඳට සලකනව. හොඳට කන්න බොන්න දෙනව. හොඳට විවේක දෙනව. එතකොට ලෙඩට දුකට බලනව. මං ආවට පස්සෙ මේකෙ කිසි කවල් එකක් නැහැ.''

''ඒ කීවෙ?''

''ඒ කිව්වෙ කිසි කලබලයක් නැහැ. මුදලාලිට උවමනා විදියට වැඩටික කෙරෙනව. මුදලාලි මට හරි කැමතියි.''

''කවුරුහරි කලබලයක් කෙරුවොත් එහෙම?''

''එහෙනං ඉතිං එයාව මුදලාලි ආවම බාර දෙනව.''

''එතකොට?''

''එතකොට තමයි වැඩේ. මුදලාලි එයයි මෙල්ලකරන්න බලනව. මෙල්ලකරන්න බැරි උනොත් මුදලාලි එයාව එක්කං යනව. හැබැයි එයා ගැන ඊට පස්සෙ අහන්නවත් හම්බවෙන්නෙ නැහැ.''

ඒ වචනටික ඇසීමෙන් මගේ ඇඟ කිලිපොලා ගියේය.

''ජානිස් අයියෙ මොකද මෙහාට ළමයි විතරක් අල්ලං එන්නෙ? ලොකු ඇයො අල්ලං එන්නෙ නැද්ද?''

''ලොකු ඇයො අල්ලන්න අමාරුයි නෙ. ඇරත් පඩිදෙන්නත් එපායැ? ළමයිනං අල්ලන්නත් ලේසියි. පඩිදෙන්න ඕනත් නැහැ.''

''ඉතිං නිතරම ළමයි අල්ලං එනවද?''

''නෑ. හැමදම නෑ. මාසෙකට හමාරකට එක්කෙනෙක් අල්ලං එනව. එක ළමයෙක් අල්ලගන්න කොච්චර කුරුමානං බලන්න ඕනද? පංගුවක් ළමයි අල්ලගත්තත් සිහිය නැතිකරන්න අමාරුයි. පංගුවක් ළමයි සිහිය නැති කළත් විගැහිං සිහිය ඇවිල්ල කෑ ගහල බේරිල යනව. හොඳට සිහිය නැති කරල පොලීසිවලිනුත් බේරිල ළමයෙක් මෙහාට ගේන එක කොච්චර අමාරු වැඩක්ද?''

මාව අල්ලාගත් හැටි යළිත් මගේ සිහියට නැගෙයි.

''ඉතිං ජානිස් අයියෙ ඔය විදියට ළමයි අල්ලං එන එක පව් නැද්ද?''

''ඒ—පව්?'' යි කියමින් ඔහු මා දෙස රවා බැලීය. ''පව් බල බලා සල්ලි හම්බකරන්න පුළුවන්ද?''

වට්ටක්කා මාළුව ලිපේ තැබූ ඔහු කරවල බැදුමක් හදන්නට සූදානම් කරයි.

''අනේ ජානිස් අයියෙ මෙතෙං බේරිල යන්න පිළිවෙලක් ඇත්තෙම නැද්ද?''

ඔහු පිළිතුරු දෙන්නට මත්තෙන් මඩුව ඉදිරිපස වනරොද දෙසින් ළමා රංචුවකගේ ගාලගෝට්ටිය ඇසෙන්නට විය.

''ඔය එන්නෙ කොල්ලො ටික. අද උයාගන්නත් පරක්කු උනා කතාවට ගිහිල්ල.''

මම ලැජ්ජාව, සතුට හා කුතුහලය මිශ්‍ර හැඟුමෙන් යුක්තව මිදුලට දිවගොස් කැලෑරොද දෙස බලා සිටියෙමි. මඳ වේලාවකදී, කිලිටු කොටකලිසම් ඇඳගත්, දහඩිය පෙරෙන සිරුරින් යුත්

ළමයි රංචුවක් අඩිපාරෙන් මතුවිය. ඔවුනු සියලුදෙනාම අරුම පුදුම සතකු දෙස බලන්නාක් මෙන් මා දෙස බලමින්ම වාඩිය තුළට ගමන් කරන්නට වූහ. ''මචං හොඳ කොල්ලෙක්'' යයි එක් ළමයෙකු කියනු මට ඇසිණ. තව ළමයෙක් වාඩියට නොගොස් කෙලින්ම මා වෙත ඇවිත්, මඳ වේලාවක් බලා සිට, මගේ අතින් අල්ලා ගත්තේය.

''මොකක්ද නම?''

''නන්දන.''

''කොහේද ගම?''

''අනුරාධපුරේ.''

''කොහොමද තමුසෙව අල්ලගත්තෙ?''

මාව අල්ලාගත් හැටි කියද්දී අනික් අයත් එකා දෙන්නා බැගින් ඇවිත් මාව වටකර ගෙන සවන් දුන්හ. මාව අල්ලාගනු ලැබූ විදියට මෙන්ම වෙනත් උපක්‍රම වලිනුත් අල්ලාගනු ලැබූ අය එහි වූ බව ඔවුන් සමග කල කතාබහේදී හෙළි විය. අප පිළිසඳරේ යෙදී මෙසේ පැය බාගයක් පමණ මිදුලේ ගත කරන විට ජානිස් අයියා මඩුව ඇතුලේ සිට අපට කතා කළේය.

''හා හරි! එනවල එනවල පිඟං අරගෙන!''

ඒ හඬත් සමගම සියල්ලෝම මඩුව ඇතුළට ඇදී ගියෝය. මගේ අතින් අල්ලාගෙන සිටි ළමයා වන නිමල් මාත් ඇදගෙනම ඇතුළට ගියේය. බෙලෙක් පිඟන් ගොඩෙන් එක එක



පිඟාන බැගින් ගත් ළමයි ජානිස් අයියාව වටකර ගෙන කෑම බෙදවා ගත්හ. මගේ යාළුවා මටත් බත් පිඟානක් බෙදවා දුන්නේය. අපි සියලු-දෙනාම බිම එලූ පොල්අතු මත වාඩිවී බත් කෑවෙමු.

කෑම කා අවසානයේ ජානිස් අයියා නැවතත් නියෝගයක් දුන්නේය.

''දං ඉතින් යනවල. මේ ළමය මෙහෙ හිටපුවාවෙ. ගිය හැටියෙ වැඩ පටංගන්නවල කයිවාරු ගගහ ඉන්නෙ නැතුව. අද මම එන්නෙ පොඩ්ඩක් පරක්කුවෙල.''

සියල්ලෝම ආ පාරෙන්ම නැවතත් වැඩට ගියහ. මගේ යාළුවා ''අපි ගිහිං එන්නංකෝ''යි කියා මගෙන් සමුගෙන ගියේය. මම මඩුවේ රැඳුනෙමි. ''ඇඟට අමාරුනං ටිකක් නිදා-ගන්නව!''යි කියා ජානිස් අයියාද ටික වේලා-වකින් වැඩපොලට ගියේය. මම බුරුඇඳේ දිගාවීමි. ඇඟට පණනැති කම නිසා මට සුළු වේලාවකදී නින්ද ගියේය.

මට ඇහැරුණේ සවස පහට පමණ ජානිස් අයියා ආපසු පැමිණ කිද්දූ විටය. ඔහු මට තේ එකක්ද හද දුන්නේය. ඔහුද තේ කෝප්පයක් අතට ගෙන බුරුඇඳේ වාඩිවිය.

''හෙට ඉඳං වැඩට යන්න වෙවී. මෙහාට එන කාටත් එහෙමයි. ආපුදවට පහුවෙන්ද ඉඳල වැඩට යන්න ඕන.''

"මොනවද ජානිස් අයියෙ මට කරන්න තියෙන වැඩ?"

"වැඩද? වැඩ ඉතිං කරෝල වේලන එක තමයි. ඒක වැඩිය අමාරු වැඩක් නෙමෙයි. ටිකක් අව්වෙ ඉන්න එක විතරයි."

ඔහු මිදුලට ගොස් ඇණතියා ගෙන බාල් ගරන්නට පටන්ගත්තේය. දෙපයේ දූවටෙන බලල් පැටවකු මෙන් මමත් ඔහු පසුපසම ගියෙමි.

"කරවල වේලනවයි කිව්වට මට හරියට තේරුණෙ නැහැ."

"කරෝල වේලනවයි කිව්වෙ ළමයො මෙකයි. ඔරුකාරයො උදේට මාළු අල්ලගෙන ගොඩට ගේනව. ළමයි ඒ මාළු කපල සුද්ද කරල ලුණු වතුරෙං පොඟ්දල වැල්ලෙ තුනීකරනව. දෙළහ වෙන්නකලියෙං මාළු සුද්දකරල ඉවර කරන්න ඕන. මාළු අඩුදට වැඩ ලේසියි. වැඩිදට වැඩ අමාරුයි."

"මාළු වැල්ලෙ තුනී කෙරුවට පස්සෙ වැඩක් නැද්ද?"

"ආ ඇයි නැත්තෙ? වේලෙන්න වේලෙන්න මාළු අනිත් පැත්ත හරවන්න ඕන. එක රවුමක් අනිත් පැත්ත හරවගෙන යනකොට පැයක් හමාරක් ගතවෙනව. ආයි මුල කොණේ ඉඳල පටංගන්න ඕන. හැන්ද වෙනකොට වේලිච්ච හැටි හැටියට මාළු වෙන වෙනම එක්කාසු කරල ගොඩවල් ගහනව. ඊලඟට ඒ ගොඩවල් මඩුවට අදිනව."



"මේ මඩුවට?"

"නැහැ. ඒ පැත්තෙ මඩු තියෙනව. දවස් ගානක් වේලුනාට පස්සෙ තමයි මේ පැත්තෙ මඩුවලට ගේන්නෙ."

"කවුද මාළු අල්ලනවයි කිව්වෙ?"

"එහා පැත්තෙ වාඩියෙ ඉන්නව මාළු අල්ලන මිනිස්සු. ඒගොල්ල ඔරුවලිං රෑට මුහුදු යනව. උදේට ගොඩ එනව. දවාලට නිදියනව."

"ළමයින්ට මුහුදුයන්න දෙන්නෙ නැද්ද? මටත් ආසයි මුහුදු ගිහිල්ල මාළු අල්ලනව බලන්න."

"බැරියෑ පනුවෙල! හොඳිං හිටියොත් මං දවසක මුහුදුයන්න දෙන්නංකෝ!"

කොළුරැලේ ගාලගෝට්ටිය යළිත් වනාරොද දෙසින් ඇසෙන්නට විය. අනිත් අයට කලින් අඩිපාරෙන් මතුවුණේ මගේ යාළුවා නිමල්ය. ඔහු මා වෙත දුවගෙන ආවේය.

"නන්දන, කොහොමද ඇඟට අමාරුවක් එහෙම නැද්ද?"

"නැහ්!"

අනික් අයත් දෙතුන් දෙනා බැගින් ඇවිත් මඩුවට ඇතුළු වූහ. කාටත් තේ කෝප්පය බැගින් ලැබුණේය. තේ බීමෙන් පසු නිමල් මගේ අතින් අල්ලා ඇද්දේය.

"නන්දන අපි යංකො වැල්ලෙ ටිකක් ඇවිදින්න!"

අපි දෙදෙනා මඩුව පිටුපස වෙරළ පැත්තට ගියෙමු. පාළු වෙරළ දිගේ හෙමි හෙමින් පියවර මනින අතර නිමල් නිහැඬියාව බින්දේය.

''මොනවද නන්දන ජානිස් අයිය කියන්නෙ?''

''මොකුත් නෑ ඇයි?''

''හෙට ඉඳං ඔයාට වැඩට යන්න කිව්වෙ නැද්ද?''

''ආ ඒකනං කිව්ව. ඒක තමයි මාත් මෙ කල්පනා කරකර හිටියෙ.''

''බය වෙන්න එපා. මෙහේ වැඩ එච්චර අමාරුවක් නෑ. අව්වෙ ඉන්න එක තමයි ටිකක් අමාරු. පුරුදු වෙනකොට ඒකත් දනෙන එකක් නෑ. අපිටනං දූං ගානක්කත් නෑ.''

''ජානිස් අයිය හරි හොඳ මිනිහෙක් වගෙයි නේද නිමල්?''

''අනේ ඔව් හරි හොඳ මනුස්සය. අපිට හරි කරුණාවයි. කිසි හිරිහැරයක් කරන්නෙ නැහැ. අපි මෙහෙන් වාඩිවෙමු.''

අපි මුහුදට මුහුණලා සිහින් වැලිතලාවේ වාඩි-වුණෙමු. දැන් ඉර බැස ගොස්ය. එහෙත් තවම කරුවල වැටී නැත. නිමල් ගැන තොරතුරු දැනගැනීමට මට ලොකු ආසාවක් ඇතිවිය.

''නිමල් මෙහාට ඇවිදිං හුඟක් කල්ද?''

''අනේ ඔව් දැං අවුරුද්දකටත් වැඩියි. අපේ ගම පොල්ගහවෙල. මං ඉගනගත්තෙ පොල්-ගහවෙල මධ්‍ය මහා විද්‍යාලෙ.''



''ඇත්තද! කීයට වෙනකල් ඉස්කෝලෙ ගියා ද?''

''මං හිටියෙ හයවෙනි ශ්‍රේණියෙ අපි දවසක් සංගීත සන්දර්ශනයක් බලන්න ගියා පොල්ගහ-වෙල ටවුමට. අපි ගියෙ අම්මල තාත්තල ඔක්කොමල එක්ක. ඉතිං අම්මල පිටිපස්සෙ ඉන්දැද්දි මං සෙනග අස්සෙං ඇදිල ගිහිල්ල ඉස්සරහටම වෙලා එච්. ආර්. ජෝතිපාලගෙ සිංදුවක් අහගෙන හිටිය''

'ඉතිං?''

ඔහු මඳ වේලාවක් නිශ්ශබ්දව සිට දෑස් පියද ගත්තේය.

''ඉතිං ඔහොම ඉන්නකොට පස්සෙං හිටිය මිනිහෙක් මගේ උරේට අතක් තියාගෙන හිටිය. මං ඕක ගානකට ගන්නෙ නෑ. ටිකක් වෙලා එහෙම හිටිය විතරයි මට මතක. ඊට පස්සෙ මොනව උනාද කියල මන්දන්නෑ. පස්සෙ බැලින්නං මට සිහිය නැතිකරල මේ වාඩියට ගෙනැහිල්ල තිබුණ.''

''එහෙනං නිමල්ව ගෙනැහිල්ල තියෙන්නෙත් මාව ගෙනාපු මිනිහම වෙන්න ඇති.''

''වෙන්න ඇති! මෙතෙ ඉන්න ඔක්කොමල ඔය වාගෙ සිහිනැති කරල තමයි ගෙනැහිල්ල තියෙන්නෙ. ලංකාවෙ හැම පළාත්වලම වාගෙ ළමයි මෙතෙ ඉන්නව.''

''ඉතිං නිමල් මෙතෙකං පැනල යන්න එහෙම කල්පනා කෙරුවෙ නැද්ද?''

''අපෝ ඒක කරන්නෙ කොහොමද? හතර වටේම මහ මූද. ඉතිං කොහාට කියල යන්නද? හැබැයි කවද හරි පොලිසියෙං කඩා පැන්නොත් බේරිල යතැකි.''

''ඉතිං පොලීසියෙං ඒවිද?''

''කියන්න බෑ. ඉස්සරනං එහෙම ඇවිල්ල තියෙනව.''

''ඒ කිව්වෙ?''

''ඒ කිව්වේ—ඉස්සර මේක බොහොම දියුණුවට තිබ්බව කරෝල වාඩියක්ලු. අපි වාගෙ කොල්ලො සියක් විතර ඉඳල තියෙනව. ඉතිං දවසක් රාත්තිරි පොලීසිය මෝටර් බෝට්ටු තුනකිං ඇවිල්ල ඔක්කොම අල්ලං ගියාලු.''

''ඒ ළමයිංගෙ අම්මල තාත්තල පොලීසිවලට දන්නල වෙන්න ඇති නේද?''

''වෙන්න ඇති. ඉතිං ඊට පස්සෙ මේ දූපත පාළුවට ගිහිං තියෙනව. පස්සෙ ආයෙමත් වැඩ-කරන්න පටං අරං තියෙනව. දැං බොහොම පරෙස්සමෙංලු මේක කරගෙන යන්නෙ. මේ මඩුව ඉස්සරහ තියෙන කැලෑකුට්ටියෙං එහා පැත්තෙ වෙරළෙ මාළු අල්ලන මිනිස්සුංගෙ වාඩියක් තියෙනව. ඒ ගොල්ලයි අපිවයි නිතරම වෙං කරලයි තියෙන්නෙ. එ ගොල්ලංටනං හොඳට පඩි දෙනවලු. ගමට ගිහිං එන්නත් දෙනවලු. අපිට සතයක්කත් දෙන්නෙත් නැහැ. යන්න දෙන්නෙත් නැහැ.''



''මේක අයිතිකාර මුදලාලි ඉන්නෙ කොහේද?''

''මුදලාලි ඉන්නෙ කොහේද කියල අපි කවුරුවත් දන්නෙ නැහැ. එයා සුමානෙකට එකපාරක් මෙහාට එනවලු. එන්නෙ රෑටලු අපිනං තාම දැකලත් නැහැ. රෑට බෝට්ටුවකිං බඩු ගෙනැත්දීල කරෝලත් පටෝගෙන රෑම ආපහු යනවලු. අපි දැං යමු නේද නන්දන. කරුවලත් වැටීගෙන එනවනෙ?''

අපි ආපසු වාඩියට යනවිට හොඳටම කරුවල වැටී තිබුණි. ළමයි කෑම කමින් සිටියහ. අපි දෙන්නාත් අපට බෙද තිබුණු බත්පිඟන් දෙක ගෙන කෑවෙමු. ඉන්පසු කවුරුත් නිදගැනීම සඳහා අල්ලපු මඩුවට ගියෝය. එහි තිබුණු පැදුරු කබල් එලාගෙන අපි නිදගතිමු. ජානිස් අයියා පමණක් වාඩියේ නතර විය.

පසුද උදේ ජානිස් අයියා පැමිණ කතා කරන තුරු අපි කවුරුත් තද නින්දේ පසුවීමු. උදේ කෑම සඳහා අප කාටත් ලොකු රොටිය බැගින් ලැබිණ. රොටි කා තේ බීමෙන් පසු සියලුදෙනම වනරොද මැදින් වැටුණු අඩිපාර දිගේ අනික් පැත්තේ වෙරළට ගියෙමු. නිමල් නිතරම සිටියේ මා සමගය. අඩිපාර දිගේ සැතපුම් බාගයක් පමණ ගියවිට විශාල වැලිතලාවකින් යුත් වෙරළ අප ඉදිරියේ දිස් විය. මාළු අල්ලන මිනිසුන්ගේ වාඩිය එක පැත්තකින්ද, කරවල මඩු කීපයක් අනික් පැත්තෙන්ද විය. අප යන විට

රෑ මුහුදු ගිය මාළුඔරු ගොඩට එමින් තිබිණ. ඔරුකාරයෝ මාළුඔරු වෙරළ දිගේ ටිකදුරක් ගොඩට ඇදගෙන විත් වැල්ලේ නතරකොට, ඔවුන්ගේ වාඩියට ගියෝය. ඒ සමගම පැමිණි ජානිස් අයියාගේ උපදෙස් අනුව අපි ඔරුවල තිබුණු මාළු අහුරු බැගින් ගෙන වැල්ලේ ගොඩ ගැසුවෙමු.

ඊළඟට මාළු ශුද්ධකිරීම ඇරඹුණි. ළමයින්ගෙන් කොටසක් ලොකුමාළු බඩ පලා බඩවැල් අස්කොට දුන් අතර, තව පිරිසක් ඒවා රැගෙන ගොස් ලුණු වතුරෙන් සෝද රත්වූ වැල්ලේ පේලි වලට අඩුක් කළහ. පොඩිමාළු ශුද්ධ කිරීමක් නැතිවම තෝරා ගෝනිවලට දමාගෙන ගොස් වැල්ලේ පොල්අතු මත තැන්පත් කරනු ලැබීය. එද වැඩිපුර මාළු නොතිබුණු දවසක් නිසා දහය පමණ වන විට අමාරු වැඩ කොටස අවසන් විය. ඉන්පසු ජානිස් අයියා දවල් කෑම සූදානම කිරීම පිණිස පිටත්ව ගියේය. අපි අව්රස්නය නොබලා විනෝදයෙන් හා විහිළුවෙන් මාළු වෙලීම කරගෙන ගියෙමු. කිසිවකුගේ මෙහෙයවීමක් නැතිව පුරුද්දට මෙන් ළමයින් කවුරුත් තම තමන්ට නියමිත වැඩ කොටස කරගෙන ගියෝය. කවටකමක් ඇරෙන්නට කිසිවකුගේ කිසිදු අඬදබරයක් නොවීය. ජානිස් අයියා ළමයින්ට නිදහසේ වැඩ කරන්නට ඉඩ දී තිබුණේය.



ඉර මුදුන් වන විට දවල් කෑම සඳහා අපි වාඩිය බලා පිටත්වීමු. අපි යන විට ජානිස් අයියා කෑම සූදානම් කර තිබුණි. වම්බටු මාළුවක්, කරවල බැදුමක් හා පොල් සම්බෝලයක්ද සාද තිබිණ. කෑම බෙදද්දී ''කොහොමද ඉලන්දරියා වැඩ එච්චර අමාරු නැහැ නේද''යි ඔහු මගෙන් විමසීය. මම ''නැහ්'' යයි කීමි.

දවල් කෑමෙන් පසු අපි කවුරුත් ආපසු වැඩබිමට ගියෙමු. අපි යන විට මාළු තරමක් වෙලී තිබිණ. ලොකු මාළු දෙතුන්වරක් අනික් පැත්ත පෙරලීමත් කුඩා මාළු අත ගා කලවම් කිරීමත්ය සවස් කාලයට නියමිතව තිබි රාජකාරිය. අපි විනෝදයෙන් එම රාජකාරියෙහි යෙදුණෙමු.

ගිනිගහන අව්වේ සැරගතිය සවස හතර පමණ වන විට අඩුවී ගියේය. ඒ සමගම, ජානිස් උන්නැහේගේ නියෝගය පරිදි මාළු ආපසු එකතුකිරීම ආරම්භ විය. බාගෙට වේලුණු මාළු එකතුකර අසල තිබුණු පොල්අතු මඩුවල තුනීකරනු ලැබීය. ඉන්පසු සමහරු කලිසම් කොට ගලවා දමා මුහුදට පැන නාගත්හ.

කරවල වාඩිවල වැඩට යොදවනු ලබන ළමුන්ගෙන් දරුණු වහල්වැඩ ගන්නා බව මා අසා තිබුණත්, මෙහිනම් එවැන්නක් නැති බව එක දවසින්ම මට වැටහී ගියේය. මෙහි ළමුන් වැඩකරන්නේ සිය කැමැත්තෙන් මෙනි. වරදක් දුටුවිට හරිගස්සනවා හැරෙන්නට, ජානිස් අයියා වැඩිපුර නියෝග දෙන්නේ නැත. ඔහු ඉතා කරුණාවන්තය. ළමුන්ට අවශ්‍ය තරම් කෑමද

ලැබේ. මෙහි වැඩකිරීම මා මුලදී සිතූ තරම් අමාරුවක් නැත. ටික කලක් මෙහි සිටින්නට සිදුවුවත් කමක් නැතැයි දූන් මට සිතේ.

ඉර බසින්නට ආසන්නවත්ම අපි වාඩියට ළඟා වීමු. කලින් ගොස් සිටි ජානිස් අයියා අපට තේවතුර සූදනම් කර තබා රෑ කෑම උයමින් සිටියේය. තේ පානයෙන් පසු සමහර ළමයි ගල්කැට ගෙන මිදුලේ ඇටබෝල සෙල්ලම් කිරීමෙහි යෙදුණෝය. තවත් අය එහේ මෙහේ ඇවිදින්නට ගියහ. නිමලුත් මාත් කලින් දවසේ මෙන් මුහුදු වෙරළේ ගිමන් අරින්නට ගියෙමු. කවුරු කොහේ ගියාදැයි සෙවීමට ජානිස් අයියා උනන්දුවක් දක්වූයේ නැත.

නිමල් හා මම වෙරළේ කලින් දින ගිය පැත්තට නොගොස් අනික් පැත්තට ගියෙමු. ඒ පැත්තත් අර පැත්ත වගේමය. පුළුල් සුදු වැලි-තලාව ඉදිරියෙන් ඇත්තේ එතෙරක් නො-පෙනෙන මහ මුහුදය. එහි රළ නගිමින් බිඳෙමින් දෝංකාර දෙයි. කලාතුරකින් කුරුල්-ලකු දෙන්නකු ඈත හිස් අහසේ පියාඹනු පෙනේ. කොයි අත බැලුවත් පෙනෙන්නේ උදසීන පාළුව පමණකි.

''නිමල්, මේ දූපත හුඟක් ලොකුද?''යි මම ඇසුවෙමි.

''නෑ එච්චර ලොකුවක් නෑ. අපි මෙකෙ වටේම ඇවිදල තියෙනව. වටේම යනකොට හැතැක්ම හතරක් විතර ඇති. අර වාඩිය ඉස්සරහ තියෙන කැලෑකුට්ටිය නොතිබුනානං මුළු දූපතම එක පාරට බලාගත හැකි.''

''මෙක තියෙන්නෙ ලංකාවට කොයි පැත්තෙන්ද?''

''ඒකනං දන්නෑ. ජානිස් අයියගෙං අපි ඔය වාගේ දේවල් කීප වතාවක්ම ඇහැව්වා. මිනිහ කියන්නෙ නෑ.''

''ඇයි ඒ!''

''ඇයි, එතකොට අපි දූනගන්නව නෙ අපි ඉන්නෙ කොහේද කියල.''

''නිමල්, මටනං හිතෙන්නෙ අපි මේ ඉන්නෙ පුත්තලම පැත්තෙයි කියල.''

''නන්දන කොහොමද එහෙම කියන්නෙ?''

''එහෙම කියන්නෙ—මං අහල තියෙනව පුත්තලම පැත්තෙ කරවල වාඩි තියෙන දූපත් තියෙනවයි කියල. මේ පැත්තෙ දූපතක කරවල වාඩි වගයක් ගිනි අරගෙන මහ විනාශයක් උනයි කියල පත්තරෙත් තිබුණ මට මතකයි.''

''වෙන මොනවද සාක්කි?''

''තව—මං අද වැඩ කරද්දී දැක්ක කුරුල්ලො වගයක් පියාඹනව. උං මූදපැත්තෙ ඉඳල අපි කරවල වේලන දිහාවට ආව. උං එන්න ඕන ගොඩබිමක ඉඳල. ඒ පැත්ත දූපතේ නැගෙන-හිර පැත්ත නේ?''

''ඒක මාත් දැකල තියෙනව. කුරුල්ලො වැඩිපුර එන්නෙ ඒ පැත්තෙං තමයි. වැඩිපුර යන්නෙත් ඒ පැත්තට.''

''නව සාක්කියක් තමයි නිමල් මෙ පොල්අතු මඩු හදපු විදිය. දූපතේ නැගෙනහිර පැත්තෙ වාඩි මාළු අල්ලන මිනිස්සුන්ට. බටහිර පැත්තෙං ළමයිංගෙ වාඩිය. පොලීසියෙං එහෙම ආවොත් ඉස්සරවෙලාම අහුවෙන්නෙ මාළු-කාරයො. හොරට අල්ලං ආපු ළමයි එක පාරටම අහුවෙන්නෙ නැහැ.''

''නන්දන හරි. මටත් හිතෙනව අපි ඉන්නෙ පුත්තලම පැත්තෙ දූපතකම තමයි කියල. ඒත් ඉතිං ඔක අපි දැනගත්තයි කියල මොකක්ද ඇති පලේ?''

''පලේද? ඇයි, අපිට කවදහරි මෙකෙං බෙරිලායන්න මාර්ගයක් හදගන්න ඒක ලොකු උදව්වක් නේ?''

''ඒක කොහොම උනත්, දැං රෑවෙලානේ. දැං යමු. ගිහිල්ල කාල බුදියමු.''

අපි වාඩියට යන විට අනික් අය කෑමත් කා තිබිණ. කෑමෙන් පසු කවුරුත් අල්ලපු මඩුවට ගොස් බුදියා ගත්තෙමු.

කිසිදු විශේෂ සිද්ධියකින් තොරව කරවල වෙලීමෙ රාජකාරිය අපි සතියක් පමණ කරගෙන ගියෙමු. ඒ කාලය තුළ මට දැණුනු එකම අමුත්ත නම් අව්වෙ වැඩකිරීමට ටිකින් ටික පුරුදු වීමය.



එක වයසේ යහළුවන් සමග රෑ දවල් එකට ගතකරන්නට ලැබීම නිසා මුලදී තිබුණු කාන්සියද මඳින් මඳ පහ ව ගියේය. අතරින් පතර ගෙදර හා පාසැල ගැන මතක් වුවද, එවැනි අවස්ථාවල ඇතිවන දුක් වේදනා තුනී කිරීමට නිමල් සමත්විය. මේ සතිය තුළ එක් රෑයක කරවල මුදලාලි ඇවිත් ගිය බව ජානිස් අයියා ගෙන් දැනගන්නට ලැබිණ. මුදලාලි කැම ද්‍රව්‍ය ගෙනැවිත් දී වේලුණු කරවලත් පටවාගෙන රෑම ගොස් තිබිණ. කරවල බෝට්ටුවට පටවා තිබුණේ මුදලාලි සමගම පැමිණි මිනිසුන් විසිනි.

ඉස්සර මුදලාලි පැමිණි විට දවස් දෙක තුනක් දූපතේ නතරවී සිට ඇති නමුත්, පොලීසිය කඩා පැනීමෙ සිද්ධියෙන් පසු ඔහු රෑම ඇවිත් රෑම ආපසු යන බව පැරණි තොරතුරු දන්නා ළමයින්-ගෙන් අසන්නට ලැබුණි. මුදලාලි පැමිණිවිට නතරවී ඇත්තේ ඔහුගේම කුඩා ගේකය. ඒ ගෙය ඇත්තේ කැලෑකුට්ටිය මැද කවුරුත්වත් වැඩිපුර නොයන තැනක ය. සිමෙන්තියෙන් බැඳි, ටකරන් වහලයකින් යුත් එය කවුරුත් හැඳින්වූයේ ''කාමරය'' යන සුරතල් නමින්ය. ඒ එය එක් කාමරයකින් යුත් ගෙයක් නිසා හෝ කාමරයකට වඩා විශාල නොවූ නිසා හෝ වන්නට ඇත. සමහර ළමුන් එය දැක ඇත. දැන් එයට යන පාර වල්බිහිව ගොස් ඇති නිසා කාටවත් ලෙහෙසියෙන් එය සොයාගත

නොහැක. නිමල් එය දැක ඇත්තේ එක් වතාවක් පමණය. එහි දොර වසා ඉබ්බකු දමා තිබී අයුරු ඔහුට මතකය. මෙම කාමරය ගැන ඇසූ මොහොතේ සිට එය දැකගැනීමට මට ලොකු උනන්දුවක් ඇති විය.

මා කරවල වාඩියට පැමිණ සතියකට පමණ පසු තවත් තීරණාත්මක දිනයක් උදා විය. එදින අපි වෙනද මෙන් දවසේ වැඩ හමාර කර සවස වාඩියට පැමිණියෙමු. අනික් අය පුරුදු පරිදි නොයෙක් කෙළිසෙල්ලම්වල යෙදී සිටි අතර නිමල් සහ මම අපට පුරුදු පරිදි මුහුදු වෙරළේ ඇවිදිමින් කතා කර කර සිටියෙමු. වේලාව හැන්දෑවේ හතට පමණ ඇත. අඳුර ක්‍රමයෙන් වැඩිවෙමින් තිබුණු නමුත්, විවෘත ස්ථානයක්වූ වෙරළේ වටාපිටාව තවම කළුවරින් වැසී නැත.

මහමුහුදේ අනොරක් නැති හෝ හෝ හඬ මැදින් හිටිහැටියේම තවත් නුපුරුදු ශබ්දයක් ඈත සිට යාන්තමට ඇසෙන්නට විය. අපි මුහුද දෙස බලාගත් වනම නිහඬව කන්දීගෙන සිටියෙමු. ටික වේලාවකදී මෝටර් බෝට්ටුවක් අප සිටි ඉසව්ව පසුකර ගෙන ඈත මුහුදේ සෙමින් ගමන් කරනු අඳුර අතරින් අපට පෙනිණි.

"නන්දන, මොකක්ද ඒ?"යි තැතිගත් ස්වර-යෙන් නිමල් ප්‍රශ්න කළේය.

"මෝටර් බෝට්ටුවක්. ඒත් මොකද මේ අවේලාවෙ ලයිට්ත් නිවාගෙන? පොලිසියෙන්ද එහෙම නැත්තං නාවික හමුදාවෙ මුර බෝට්ටු-වක්ද දන්නෙ නෑ."



"ඇයි නාවික හමුදාවෙ මුර බෝට්ටු මෙහේ?"

"ඉන්දියාවෙං හොර වැසියො එනවද කියල බලන්න වෙන්න ඇති."

බෝට්ටුව සුළු වේලාවකින් නොපෙනී ගියේය. අපි එය වැඩි ගණනකට නොගෙන අමතක කළෙමු. තවත් පැය බාගයක් පමණ අප එහි කතා කරමින් සිට ආපසු වාඩියට එන්නට පිටත් වීමු. නිමල් හදිසියේම මගේ අත තදින් අල්ලා ගත්තේය.

"නන්දන පොඩ්ඩක් නවතින්න. වාඩිය පැත්තෙ කලබලයක්. අර...අර..."

අපි මඳක් නතර වී අඳුර අතරින් වාඩිය දෙස බලා සිටියෙමු. නිමල් කීවේ ඇත්තය. වාඩිය පැත්තේ මොකක්දෝ මහ කලබලයකි. කීප-දෙනෙක් මිදුලේ එහා මෙහා දුවපනින්නාක් මෙන් පෙනේ. ඔවුන්ගේ කටහඬ යන්තමට ඇසුණත් වචන තේරුම් ගත නොහැක. අපි වැල්ලේ එතැනම ඇණතියා ගෙන අඳුර අතරින් බලා සිටියෙමු. දැන් ළමයි සියලුදෙනාම මිදුලේ එකතැනකට වී සිටිති. පොලිස්භටයින් යයි සිතිය හැකි පුද්ගලයින් හත්අට දෙනෙක් විදුලි පන්දම් එල්ලකරමින් වට පිට පරීක්ෂා කරති. අප සිටි දෙසටත් විදුලිපන්දම් එළි පහරවල් කීපයක් එල්ලවුණත් ඔවුන් අප දුටු බවක් නොපෙනුණි.

තව සුළු වේලාවකදී සියලුදෙනම එකා පස්සේ එකා බැගින් වනරොද මැදින් වූ අඩිපාර දිගේ ගොස් නොපෙනී ගියහ. ඉතා කෙටි කාලසීමාවක් තුළදී ඇරඹී අවසාන වූ මේ ත්‍රාසජනක සිද්ධිය අපට දැනුණේ සිහිනයක් දුටුවාක් මෙනි.

සිදුවූයේ කුමක්දැයි වටහා ගැනීමට අපොහොසත් වූ අපි දෙදෙන ගල්ගැසුණාක් මෙන්. සිටි තැනම නිසොල්මනේ සිටියෙමු. අප දෙදෙනම අනුමාන කළේ පොලීසිය පැමිණ වාඩියේ සිටි සියලු දෙනම අල්ලාගෙන ගිය බවයි. මීට කලිනුත් වතාවක් පොලීසිය පැමිණ මෙහි සිටි ළමුන් අල්ලාගෙන ගොස් තිබුණා නේද? මෙහි නැවතත් ළමුන් වහල් වැඩෙහි යොදවා සිටින බව ආරංචි වී පොලීසිය පැමිණියා වන්නට බැරිද? එහෙත් මා මෙහි පැමිණි ළඟදීම එවැන්නක් නැවත සිදුවීමට හේතුව කුමක්ද? අපේ අම්මලා මා මෙහි සිටින බව දැනගෙන පොලීසියට ඔත්තුවක් දුන්නාවත්ද? ඒත්, ඔවුන් මා මෙහි සිටින බව දන්නේ කොහොමද?

ඒවා කොහොම උනත්, වාඩියේ සිටි ළමුන් අල්ලාගෙන ගිය බවට දැන් සැකයක් නැත. අප මද වේලාවකට කලින් මුහුදේ යනු දුටුවේ පොලීසිය පැමිණි මේ මෝටර් බෝට්ටුව විය යුතුය. ඔවුන් දූපතට ගොඩ බසින්නට ප්‍රථම දූපත වටේ රවුමක් යමින් පරීක්ෂා කළා විය හැක.



පොලීසිය ආයෙත් වරක් පැමිණේද? එහා පැත්තේ මාළු අල්ලන මිනිසුනුත් අල්ලාගෙන යන්නට ඇත්ද? එහෙම වුණානම් අපි දෙන්නා මහමුහුද මැද මේ පාළුදූපතේ අතරමං වූවාවත්ද? අපත් දුව ගොස් ඔවුන්ට එකතු නොවී සැඟවී සිටීමෙන් කරගත්තේ මෝඩකමක්ද?

මෙබඳු ප්‍රශ්න සාකච්ඡා කරමින් අපි දෙදෙන හෙමි හෙමින් ගොස් වාඩියට ඇතුළුවීමු. එහි කිසිවෙක් නොවීය. සියල්ල නිශ්චලය. මාළුකාරයින්වත් ඉන්නවාදැයි බලන්නට එහා පැත්තේ වෙරළට යාමට සිතුණත් අඳුර හා බිය නිසා එය පසුවදට කල් තැබීමු. ක්‍රමයෙන් නැගී එන පාළුව, සැක හා බියට අමතරව දැන් පෙර නොදැනුණු තනිකමකුත් දැනෙයි.

ලන්තෑරුම දැල්වූ ගමන්ම පොල්අතු බිත්තියේ එල්ලෙයි. රෑ කෑම සඳහා උයාපු දේවල් හට්ටිවල එහෙමමය. දුප්පත් කොල්ලන්ට බත් ටිකවත් කන්නට ලැබී නැත. වැඩි කතාවක් නැතිව බොහෝ වේලා බලාගත් අතම බලාගෙන සිටි අපි දෙදෙන පසුව බත්ටිකක් බෙදගෙන කෑවෙමු. කිසිම දේකට බිය නොවන්නැයි කියමින් මම අමාරුවෙන් නිමල්ව අස්වැසුවෙමි. තවත් පැයක් පමණ කල්පනා සාගරයේ ගිලී සිට, පසුව පොල්අතු දෙර හොඳට තදකර වසා බැඳ තබා බූරු ඇඳේ එකට තුරුල්වී නිදගතිමු.

පසුවදට පහන් විය. අපි නැගිට උදේට රොටි සාදගෙන කා තේ බීවෙමු. ඒ අතර, කලකට සෑහෙන්නට ආහාර ද්‍රව්‍ය තිබේදැයි අහුමුළු පරීක්ෂා

කර බැලුවෙමු. අපේ වාසනාවට හාල්ගෝනි එකහමාරක් පමණද, පාන්පිටි ගෝනි බාගයක් පමණද ඉතිරිව තිබිණ. ලුණු, මිරිස්, පොල්, පොල්තෙල්, ලාම්පුතෙල් ආදී කොයි දේත් සෑහෙන ප්‍රමාණවලින් තිබිණ. අඩුවෙන් තිබුණේ සීනි පමණකි. මගේ වැටහීම අනුව, ඉතිරිව තිබෙන ද්‍රව්‍ය ප්‍රමාණය අප දෙදෙනාට මාස හතරකට පමණ සෑහෙයි. දැන් ඉතින් අනික් කාරණා කොහොම උනත් කෑම ගැන නම් බියවීමට හේතුවක් නැත.

උදේ තේ පානයෙන් පසු අපි මාළුකාරයින්ගේ වාඩිය බැලීමට ගියෙමු. අප සිතුවාක් මෙන්ම මාළුකාරයෝ එහි නොවූහ. මාළුඔරු කලින් දින ගොඩ ඇදපු තැන්වල එසේම ඇත. මාළු-වාඩියේ දොරද ඇරදපු ගමන්මය. අපි සිතූ විදියටම ඔවුන්ද පොලීසියෙන් අල්ලාගෙන ගොස්ය. දැන් ඉතින් අපි දෙදෙන මේ පාළු-දූපතේ අතරමංවී සිටින බව සක්සුදක් සේ පැහැදිලිය.

අපි දැන් කුමක් කරමුද? මාළුවාඩියේත් ආහාර ද්‍රව්‍ය ඉතිරිවී තිබෙන නිසා මාස කීපයක් යනතුරු කෑම ප්‍රශ්ණයක් නම් පැන නොනගිනු ඇත. එහෙත් කවදහරි ඒවා ඉවර වනු ඇත. එදට කන්නේ මොනවාද? දැනට පෙනෙන්නට නැති වුවත්, සොරසතුරු බියක් කවරද හරි ඇති නොවේයයි සිතන්නේ කෙසේද? අප කාටහරි අසනීපයක් හැදුනොත් ප්‍රතිකාරයක් කරන්නේ කෙසේද? කිසිම ආපදවක් නොවුණත් අප මෙහි



ඉඳගෙන කාලය ගතකරන්නේ කොහොමද? මාළුඔරු වලින් මූදුගොස් මාළු අල්ලමුද? එසේ කළත් ඒවා විකුණන්නේ කාටද? දැනටමත් වෙලී ඇති කරවල වලට කරන්නේ කුමක්ද?

කොයි දේ වුණත්, ඒ දේ වනතුරු අප මෙහි ජීවත්විය යුතුය. ගැලවීමක සේයාවක්වත් පෙනෙන තෙක් මානයේ නැත. අප ඊයේ කරබාගෙන බලා නොසිට වාඩියට දුවගොස් අනික් අයත් සමග එකතුවී ඔවුන් යන තැනකට ගියා නම් කොච්චර වාසනාවක්ද?

මාළුඔරුවක වාඩිවී අප දෙදෙන මුහුද දිහා බලාගෙන බොහෝ වෙලාවක් සාකච්ඡා කළේ මෙවැනි ප්‍රශ්නය. මෙසේ විසඳුමක් නො-පෙනෙන ප්‍රශ්නවලට මැදිවී පසුවන අතර, මුදලාලි පැමිණිවිට නතරවන කාමරය ගැන හදිසියේම මට මතක් විය. එය බැලීමට විශාල ආශාවක් ඇතිවිය. ඒ සඳහා අපි ඔරුවෙන් බැස. නිමල්ගේ මගපෙන්වීම උඩ වෙරළ දිගේ එහාට ගමන් කළෙමු. සැතපුම බාගයක් පමණ ගිය පසු නිමල් එක්තැනක නතර විය.

“මට මතක හැටියට මෙන්න මේ හරියෙං තමයි කැලේ පැත්තට හැරෙන්න තියෙන්නෙ, ඉස්සරනං මේ හරියෙ අඩිපාරක් තිබුණං. දැ කැලේට ඒක වැහිල. කැලේ අස්සෙං යමුකො බලන්න.”

එම

මිනිත්තු දහයක් පමණ අපි කැලේ අතරින් රිංග රිංගා ඉදිරියට ගියෙමු. වටපිට බලමින් මෙසේ ගමන් කරන අතර, කුඩා ගෙයක ටකරන් වහලය කොල අස්සෙං මට යන්තම් පෙනිණ. මට නිමහිම නැති ප්‍රීතිය නිසා ඉබේම කෑගැසිණ.

''වැඩේ හරි! ආන්න තියෙනවා බඩුව!''

ඒ මුදලාලිගේ කාමරය බව අඳුනාගත් නිමල්ටද මහත් ප්‍රීතියක් ඇතිවිය. ඔහු මටත් කලින් කැලය බිඳගෙන එතනට දුව ගියේය.

ඊලඟ මිනිත්තුවේදී අප දෙදෙන මුදලාලිගේ කාමරයේ මිදුලේය! කාලයක් තිස්සේ අතහැර දමා තිබීම නිසා ගෙයත් වසාගෙන කැලෑව වැඩී තිබිණ. ගඩොලින් බැඳ, සිමෙන්ති කපරාරු කළ බිත්ති වලින් යුත්, ටකරන් තහඩු සෙවිලි කළ මෙම දර්ශනීය කුඩා ගෙය, දූවිලි හා මකුළුදූල් නිසා හොඳටම කිලිටිවී තිබිණ. ජනේලය හා දොරද වසා දමා තිබුණු අතර දොරට දැවැන්ත ඉබ්බකු දමා තිබුණේය.

අපි ගෙය වටේ ඇවිද බැලුවෙමු. අපේ පුදුමයට හේතුවූ එක් දෙයක්නම්, ගෙය පිටුපස පැත්තේ කැලය අස්සේ කුඩා පොල්ගසක් තිබීමයි. කැලයෙන් වැසුණු නමුත්, එය සරුවට වැඩී තිබුණි. හැම වල්ලක්ම ගෙඩිවලින් පිරිලාය. හොඳ කුරුම්බා වලු කීපයක්ම විය. අපි කැලය පීරාගෙන ගස ළඟට ගොස්, බිම ඉඳගෙනම කුරුම්බා ගෙඩි දෙකක් කඩාගත්තෙමු. මෙහි පොල්ගසක් හැදෙන්නට ඇත්තේ කෙසේද



යනු නිමල්ට ගැටලුවක් විය. එක්කෝ මුදලාලි පොල්ගෙඩියක් ගෙනැවිත් හිටවන්නට ඇතැයිද, නැතිනම් මුහුදේ පාවී ආපු ගෙඩියක් වෙන කවුරුන් හරි සිටවන්නට ඇතැයිද මම පැහැදිලි කළෙමි. ඒ කෙසේ වෙතත් මෙ දූපත පොල්වගාවට ඉතා හොඳ බව මම තේරුම ගතිමි.

කාමරයේ ඇතුළ බලන්නට අපට ඉවසිල්ලක් නැත. එහෙත් එය කරන්නේ කෙසේද? මම නිකමට දොරේ වූ ඉබ්බා ඇදපැද සොලවා බැලීමි. එය කඩන්නට අප දෙදෙනාගේම හයිය මදිය. මට උපායක් මතක් විය. එනම්, ගිනිපෙට්ටිය ගෙනැවිත් ගිනිකූරුවල බෙහෙත් එකතුකොට ඉබිකටට දමා ගිනි ගැන්වීමයි. එය පසුවට කල්දමූ අපි කුරුම්බා ගෙඩි දෙකත් රැගෙන. ආ පාරෙන්ම ආපසු වාඩියට පැමිණියෙමු.

කුරුම්බා බීමෙන් පසු අපි දවාලට කෑම උයන්නට සූදනම් වීමු. නිමල් පොල් ගා මිරිස් අඹරා දුන් අතර, මම දන්නා හැටියට හාල්ගරා බතක් ලිප තැබීමි. ඊලඟට වම්බටු හොද්දක් හා කරවල බැදුමක්ද හදගෙන බත් කෑවෙමු.

වාඩිය පිටුපස ලිඳ ළඟ ජානිස් අයියා වගාකළ එළවලු පාත්තියක් විය. දවල් කෑමෙන් පසු කරන්නට යමක් සිහියට නොආයෙන්, ඒ පාත්තිය බලන්නට ගියෙමු. පරණ වට්ටක්කා වැලක්, වම්බටු ගස් කීපයක්, මිරිස් පාත්තියක්, කරවිල වැලක් හා බන්ඩක්කා ගස් කීපයක්ද එහි විය. නිසිලෙස වතුර හෝ පෝර දැමීමක් නැතිව, වල්පැලෑටි ඉදිරීමක්ද නොකර තිබීම නිසා මේවා

තිබුණේ කණාමුවෙලාය. හොඳට සාත්තුකර මෙ වගාව දියුණුකර ගත්තොත් අපි දෙදෙනාගේ එළවලු ප්‍රශ්නය ලේසියෙන් විසඳාගතහැකි බව මම සිතා ගත්තෙමි.

අපි එළවලු පාත්තියේ වල්පැළැටි ටිකක් අතින් උදුරා දැමීමට පටන් ගතිමු. වල් උදුරා එළිපහලි කරන විට, තවත් පැලජාති කීපයක් මතුවීම අපේ ප්‍රීතියට හේතුවිය. මෙසේ අළුතින් මතුවූයේ මෑ, මුං හා තක්කාලි පැලය. තද අව්වේ වල් ඉදිරීම නිසා පැල කීපයක් මැලවී යනු දුටුවෙන්, අපි වැඩේ නතර කොට මුදලාලිගේ කාමරය වෙත යාමට තීරණය කළෙමු. මෙවර අප එහි යන්නේ ඉබ්බා විවෘත කිරීමටය.

ජානිස් අයියා ඉතිරිකර ගොස් තිබුණු ගිනිපෙට්ටි වලින් දෙකක වෙඩිබෙත් සූරා කඩදසියක දවටා ගත් මම නිමල් සමග කාමරය වෙත ළඟාවීමි. මා මුලින්ම කළේ ගිනිකූරු බෙත් ටික පරිස්සමෙන් ඉබි කටට රිංගවීමයි. ඉක්බිති දිග කෝටුවක් ගෙන, එහි කෙළවරක රොඩු ටිකක් ඔතා ගිනිදල්වා ඈතින් සිට ගෙන ඉබිකටට ළංකළෙමි. නිමල් ඈතටවී කන්දෙකේ ඇඟිලි ගසාගෙන ඇණතියා ගත් ගමන් බලාසිටී. වෙඩි බෙත් ටික ''පුෂ්'' ගා ගිනිගත්තවාත් සමගම ඉබිකොක්ක ඇරී ගියේය. නිමල් පිම්මක් උඩපැන මහත් සන්තෝෂයෙන් දෙර ළඟට දිව ආවේය. දැන් දෙර අරිනතුරු ඔහුට ඉස්පාසුවක් නැත.



මම කාමරයේ දෙර සෙමින් සෙමින් විවෘත කළෙමි. ෂාහ්! බලන්න ලස්සන කාමර පොඩ්ඩකි! බිම සිමෙන්ති දමා හොඳට ඔප මට්ටම කර ඇත. බිත්තිවල රෝසපාට සායමක් ගාලාය. ගෙයි හැමතැනම බඩුමුට්ටු පිරිලාය. මුදලාලිගේ ඇඳ මෙට්ටයක් දමා මනාව සකස්කර ඇත. කුඩා මේසයක් හා පුටුවක් ද පසෙකින් වූ අතර, එම මේසය මත නොයෙක් බඩුජාති ගොඩගහලාය. වහලේ පැට්‍රෝමැක්ස් ලාම්පුවක් එල්ලා තිබුණු අතර, බිම මුල්ලක ලාම්පුතෙල් ලිපක් විය. එක මුල්ලක තැති, පොරෝ, උදළු, අලවංගු ආදී ආවුද ගොඩකි. ළුණුවතුර බෝතලයක්, මාර්ටින් ගොඩක්, විදුලි පන්දමක්, බැටරිකෑලි, දුනු පිහියක්, බෙත් බෝතල හා කුප්පි කීපයක්, ලොකු සූට්කේසයක් යනාදිය මේසය මත ගොඩගසා තිබිණ. කලකින් පාවිච්චි නොකරන ලද නිසා මේ සියල්ලෙහි දූවිලි බැඳී ඇත. පුටු ඇන්දේ තිබුණු තුවා කඩලක් ගෙන මම මේ බඩුමුට්ටුවල දූවිලි ටිකක් පිස්දැම්මෙමි. නිමල් කොස්ස ගෙන බිත්ති පිසදා හොඳින්ම අතුගෑවේය. අපේ ඉදිරි ජීවිතයට සෑහෙන නොයෙක් දේවල් මෙසේ අහම්බෙන් හමුවීම අපේ ප්‍රීතිය උතුරා යාමට හේතු විය. බඩුමුට්ටු පිළියෙළ කිරීමෙන් පසු අපි දෙදෙනා මුදලාලිගේ ඇඳේ ටික වෙලාවක් දිගාවී සිටියෙමු. පසුව නිශ්ශබ්දතාවය බිඳ නිමල් කතා කළේය.

''නන්දන, මොකද කල්පනාව?''

''මම මේ කල්පනා කළේ නිමල්, මුදලාලි හීනෙකින්වත් හිතන්න නැතුව ඇති පොල්ගහවෙල කොල්ලෙකුයි අනුරාදපුරේ කොල්ලෙකුයි කවදහරි එයාගෙ ඇඳේ මෙහෙම බුදිය ගනීවිය කියල.''

මම නැගිට, මුදලාලිගේ විදුලි පන්දමට බැටරිකැලි තුනක් දමා එළියකර බැලීමි. ඉන් හොඳ ආලෝකධාරාවක් නිකුත් විය.

''නිමල්, අපි මෙක ගෙනියමු. මේක අපිට කොච්චර පොරෝජංද?''

''නන්දන ඕක ගන්න. මං මේක ගන්නං''යි කියමින් නිමල් නැගිට මාළුටින් දෙකක්ම අතට ගත්තේය. ''මේක අද රෑට. අනික හෙට.''

මම විදුලි පන්දමත් අතැතිව, ඇඳේ වාඩි වුණෙමි.

''නිමල්, මං වැඩක් කියන්නද?''
''ඔව ඔව?''

''අපි මේ කාමරේට ඇවිදිං පදිංචි වෙමු. වාඩියෙ ඉන්නවට වැඩිය හොඳයි නේද?'

''අ......හොඳයිනං තමයි. ඒත් වතුර?''

''වතුර ගෙනෙමු වාඩියට ගිහිල්ල. වාඩියට කෙළින්ම යන්න කැලේ මැදිං පාරක් කපමු.''

ඔහු වහලය දිහා බලාගෙන මඳක් කල්පනා කළේය.



''කොහොමද වාඩියට කෙළින්ම පාරක් කපන්නෙ? වාඩිය මෙතෙන්ට ජේන්නෙවත් නැතෙ?''

''ඒකට ක්‍රමයක් මං කියන්නංකො. දැං යමු.''

අපි විදුලි පන්දමද මාළුටින් දෙකද උණුවතුර බෝතලයද රැගෙන ගිය පාරෙන්ම ආපහු වාඩියට පැමිණියෙමු.

මම නිමල්ට තේ උණුකරන්නට කියා ඇඟපත සෝද ගැනීමට මඩුව පිටුපස ළිඳට ගියෙමි. දවල් වල් ඉදිරූ තැන්වල තිබුණු එළවලු පැළ හුඟ හරියක් මැලවී ගොස් තිබෙනු මගේ බැල්මට අසුවිය. වැඩියෙන්ම මැලවී තිබුණේ මෑ සහ මුං පැළය. මෙයින් ඉතා කනස්සල්ලට පත් මම තේ බීමෙන් පසු නිමල්ද කැඳවාගෙන විත් මැලවුණු පැළවලට වතුර වත්කරන්නට වීමි.

''මොකද නන්දන පැළටික ඔය ඉක්මනට මැලවිල ගියෙ?''යි වතුර අදින ගමන් ඔහු ප්‍රශ්න කළේය. ''මොකද වල් ඉදිරූ එක නරකද?''

''වල් උදුරන එක නරක නෑ. ඒ උනාට වැඩෙ කළ විදිය හොඳ නෑ නේ. අපි පටපට ගාල ඉක්මනට වල් ඉදිරුව. ඒ වෙලාවෙ මුල්වලට තුවාල වෙන්න ඇති.''

''ඒ කොහොමද?''

''නිමල් දැකල තියෙනවද බන්ඩක්කා වල තියෙන බූව?''

''ඔව්. ඉතිං?''

''ඒ බූව වාගෙ හිං කෙඳිවගයක් තියෙනව මුල්වල. කෙස්ගස් තරං හිං. ඒ හින්දම ඒවට කියන්නෙ මූලකේශ කියල. මේ මූලකේශ වලිං තමයි පස් අස්සෙ තියෙන ජලය පැලෑටිවලට උරා ගන්නෙ. දඩබඩ ගාල වල් උදුරන කොට ඒ මූලකේශ සමහරක් කැඩෙනව. එතකොට ජලය උරාගන්න විදියක් නැතුව පැලෑටි මැලවෙනව.''

සම්පූර්ණයෙන්ම ඉදිරී තිබුණු මුං පැලයක් අහුලාගත් නිමල් එහි මුල් පරීක්ෂා කළේය.

''මේකෙ මුල්වල ගැටගැට වාගෙ තියනව. ලෙඩක් හැදිගෙන එනව වගෙයි.''

''නෑ නෑ ලෙඩක් නෙමෙයි. ඒ හැටි. ඔය ගැට තමයි ආහාර රැස්කරන ගබඩාවල්. ඔය ගැටවල ඉන්නවා බැක්ටීරියා වර්ගයක්. ඒ බැක්ටීරියා වාතයෙන් නයිට්‍රජන් උරාගෙන ආහාර හදනව. මුංවල විතරක් නෙමෙයි මෑ, බෝංචි, කව්පී වාගෙ මෑ පවුලෙ හැම පැලෑටියකම මුල්වල ඔය ගැට තියෙනව. සමහර ගොවියො පස සරුකර ගන්නටත් ඔය පැලජාති වගා කරනව.''

බොහෝ වෙලාවක් වතුර අදින විට නිමල්ට වෙහෙස දැනෙන්නට විය.

''දැං තාත්තා වතුර අදින්න. මම පැලවලට දමන්නං'' යි ඔහු කීය.



ඔහුට වතුර වත්කිරීම බාරදී මම වතුර අදින්නට වීමි. එහෙත් ඔහු වතුර වත්කරන ආකාරය මගේ හිතට ඇල්ලුවේ නැත. ඔහු බාල්දිය හුහක් ඉහලින් අල්ලාගෙන වේගයෙන් වතුර වත්කරයි.

''නිමල් බාල්දිය තව පහත් කරන්න. ඔච්චර උස්සල වත්කරන කොට වලවල් හෑරෙනව.''

''ඉතිං මොකද?''

''මොකවත් නෑ අර මූලකේශ කැඩිල යන එක විසක්.''

මම ඔහු ළඟට ගොස් බාල්දිය පහත්කර ගෙමින් වතුර දමන හැටි පෙන්වා දුනිමි.

අපි වැඩ ඉවරකර වාඩියට ගොඩවන විට රෑබෝ වෙමින් තිබිණ. එහෙත් රෑකෑම සූදානම් කිරීම අපට පහසු විය. හේතුව, ටින්මාළු තිබීමය. අපි හාල් ලිපතබා මාළුටින් එකක් කඩා උයන්ට සූදානම් කළෙමු. ටින්එක කපා මාළුටික පළියට ගන්නවාත් සමගම නිමල් යෝජනාවක් කළේය.

''මාළුටික මෙහෙමම කමු. ආයි තම්බන්න මාන්සි වෙන්නෙ මොකටද? එකපාරක් තම්බලා නෙ තියෙන්නෙ?''

මම එයට විරුද්ධ වීමි.

''එහෙම හොඳ නෑ නිමල්. මේව තම්බලා තියෙන එක ඇත්ත තමයි. ඒ උනත් තවපාරක් තම්බලා කමු. මොන විදියකිං හරි විෂබීජ එකතු

වුණොත් ඒවත් මැරෙනව නෙ තම්බන කොට. අපට බඩෙ අමාරුවක් එහෙම හැදුණොත් මෙ පාළුදූපතේ කාට කියන්නද?''

''නෑ මං බොරුවට කිව්වෙ නන්දන මොනව කියාවිද බලන්න''යයි ඔහු තම කැදරකම සඟවා ගන්නට වෑයමක් දැරීය. එයට සිනාසුණු මම මිරිස් ලුනු කපා දමා මාළුටික ලිපේ තැබුවෙමි. නිමල් හිස් ටින්එක හරව හරවා බලමින් පිරික්සයි.

''කොහොමද නන්දන ටින්එකේ මෙ මාළු නරක් නොවී තියෙන්නෙ?''

''නිමල්ට පේනවද ඔය ටින්එකේ ඇතුල්පැත්ත බොහොම දීප්තිමත්ව සුදට දිලිසෙනව?''

''පේනව. ඉතිං?''

''එහෙම දීප්තිමත්ව තියෙන්නෙ ''ටින්'' කියන ලෝහය ඕකෙ ආලේප කරපු නිසා. ඒ ලෝහය සීරුණොත් ටින්එකේ මළබැඳිල මාළු නරක් වෙනව. ඕකෙ එහෙම වෙලා නෑ නේද?''

''නෑ නේන්නං''

''ඒ එක්කම ටින්එකේ මාළු පැක්කරන කොට වාතය අරං දල සීල් තියනව. ඒකෙනුත් නරක්-වීම වළකිනව.''

රෑට බත් කෑමෙන් පසු විදුලි පන්දමත් රැගෙන වාඩිය පිටුපස වෙරළට ගිය අපි වෙරළ දිගේ ටික වේලාවක් ඇවිදිමින් සිටියෙමු. නිමල් නොකඩවාම හැම පැත්තටම එල්ල කරමින් විදුලි-පන්දම පත්තු කිරීම දුටු මට තරහ ආවේය.



''ටෝච්එක නිතරම පත්තුකරන්න එපා. බැටරි බැහැල යාවි.''

''තව බැටරි කැලි ගොඩක් තියෙනව නෙ.''

''තියෙනව තමයි. ඒවත් ඉවර උනාම මොකද කරන්නෙ? අපි හැමදෙයක්ම පුළුවං තරං පිරි-මහගෙන පාවිච්චි කරන්න ඕනෙ. කොච්චර කාලයක් මෙකෙ ඉන්න වෙවිද කියල කවුද දන්නෙ?''

''නන්දන, මං අහල තියෙනව බැටරි බැස්සම ආයිම පුරවනවයි කියල.''

''පුරවන්න පුළුවං තෙත් බැටරි කියන ජාතිය. ඒ කියන්නෙ කාර් බස් වල තියෙන බැටරි ජාතිය. ඒව බැස්සම ආයිම චාජ් කරනව. ඒවයෙ ඇතුලෙ තියෙන අම්ලවර්ගය අස්කරල අළුතෙං දනව. මේවාට කියන්නෙ වියලි බැටරි කියල. මේව ආයිම පුරවන්න බැහැ. මේවයෙ ඇතුලෙ තියන රසායනික ද්‍රව්‍ය විද්‍යුතය නිපදවෙන කොට වෙනස් වෙනව. බැටරි බහිනව කියන්නෙ ඒ වෙනස්වීමට. ඒ වෙනස් වුනාට පස්සෙ කලිං තිබුණ තත්වයට ගේන්න බැහැ.''

නිදිමත වනතුරු වෙරළේ ඇවිදිමින් සිටි අපි පසුව වාඩියට විත් නිදගතිමු.

පසුදින උදේ තේ බීමෙන් පසු කුමක් කළයුතුදැයි සාකච්ඡා කොට, මුදලාලිගේ කාමරයට යන කෙළින් පාර සෑදීමට තීරණය කළෙමු. එහෙත් ගැටලුවක් විය. එනම්, කාමරයේ සිට වාඩියට කෙළින්ම පාර ලකුණුකර

ගන්නේ කෙසේද යන ගැටලුවයි. උපක්‍රම කීපයක් ගැන සිතාබැලීමෙන් පසු, වාඩිය ලඟ ගිනි ගොඩක් ගසා, ඉන් උඩට නගින දුම දෙස බලාගෙන කාමරය පැත්තේ සිට පාර කැපීමට අපි දෙදෙන එකඟත්වයකට පැමිණියෙමු.

ඒ අනුව, පළමුවෙන්ම, වාඩිය ලඟ තිබුණු දිරාගිය කොලරොඩු හා ලී කැබලි ටිකක් එකතු කොට ගිනිගොඩක් අවුලුවා ගතිමු. ඉන්පසු පැරණි දුර පාරෙන් කාමරයට ගොස් කැති දෙකක් ගෙන, ගිනිගොඩෙන් නගින දුම දෙස බලමින් පාර කැපීම ආරම්භ කළෙමු. දුම ඉවරවී යන්නට මත්තෙන් පාර ලකුණු කර ගත යුතුවූ නිසා ඉලින් කලේ අතුරිකිලි දෙක්තුනා බැගින් කප කපා යාම පමණකි. දවල් දහය පමණ වන විට ගින්න නිවී දුමද නොපෙනී ගියේය. එහෙත් ඒ වන විට අපි වාඩිය පෙනෙන තෙක් මානයට පාර ලකුණු කර තිබිණ. එතනට කැලය අස්සෙන් වාඩිය පෙනෙන නිසා පාරේ ඉතිරි ටික ලකුණුකර ගැනීම අමාරුවක් නොවනු ඇත.

පුරුද්දක් නැතිව කැත්තෙන් කඩිමුඩියේ වැඩකිරීම නිසා මේවන විට අපේ අත්වල කරගැට නැගී තිබුණේය. එහෙයින් එදිනට වැඩ නතර කර තේ ටිකක් බී, තවදුරටත් කාමරය පරීක්ෂා කිරීමට ගියෙමු.

අද අපේ බලාපොරොත්තුව මුදලාලිගේ සූට්කේසය විවෘත කිරීමය. මා සූට්කේසයේ ඉබ්බා සොලවා බලන විට "ගිනිපෙට්ටියක්



ගේන්වද"යි අසමින් නිමල් වාඩියට දුවන්නට සැරසුණේය. මෙය කුඩා ඉබ්බකු නිසා ගිනි-ගැන්වීම අනවශ්‍ය බව පවසමින් මම, කම්බි කැල්ලක් ගෙන කොනක් නමා ඉබිකටට දමා විනාඩි කීපයක් ඒ මේ අතට කරකවමින් සිටියෙමි. ටික වෙලාවකදී ඉබිකොක්ක පටස් ගා පැන්නේය. නිමල් දෙඇස් අයාගෙන කෙලින්වී ආසාවෙන් බලා සිටිද්දී මම සූට්කේසය විවෘත කලෙමි.

උඩින්ම තිබුණේ මනාව නමන ලද සුදු ඇඳ ඇතිරිල්ලකි. එය නිමල්ට දුන් ගමන්ම ඔහු ඇඳ මතට විසිකළේය. ඊළඟට තිබුණේ කොටු සරමක් හා නිල් සුවිටරයකි. "මේක මට" යයි කියමින් නිමල් සුවිටරය උදුරා කරේ දමා ගත්තේය. ඊළඟට හමුවූයේ සුදු අත්දිග කමිසයකි. එය ඉවතට ගන්නවාත් සමගම, අපේ ප්‍රීතිය දෙගුණ තෙගුණ කරවමින් මතුවූයේ ඉතා අනර්ඝ වස්තු සමූහයකි. ඒවා නම් කුඩා ගුවන් විදුලි යන්ත්‍රයක්, කැමරාවක්, සේයාපටි රෝල් මිදුනක්, කුඩා වර්ගයේ බැටරි කෑලි හතරක්, බලේඩ තල දෙකක්, දුනු පිහියක්, කුඩා කම්බි රෝලක් හා තවත් නොයෙක් දේවල්ය. නිමල් ගුවන් විදුලි යන්ත්‍රය තුරුල්කර ගත්තේය. එයින් සින්දුවක් අසනතුරු ඔහුට ඉවසිල්ලක් නැත.

ඩහව නිසියද්දී මේක දල බලන්නකො නන්දනා"යි සුවිච්ය කරකවමින් ඔහු ඇවිටිලි කරන්නට පටන් ගත්තේය.

මම ගුවන් විදුලි යන්ත්‍රය විවෘතකර ඇතුලේ මළබැඳී තිබුණු පරණ බැටරිකැලි දෙක ඉවත්කර අළුත් කැලි දෙකක් දමා සුවිචය කරකවා බැලුවෙමි. එය වැඩ කරන්නේ නැත. නැවතත් විවෘතකර පරීක්ෂා කිරීමේදී බැටරි සවිවන තැන කම්බිද මළබැඳී තිබෙනු පෙනිණ. වෙනින් කම්බි කැල්ලක් ගෙන එතනට අමුණා බැටරි යොදා බැලූවිට, යන්ත්‍රය අළුත් එකක් මෙන් ඉතා හොඳින් ක්‍රියා කරන්නට විය. නිමල්ගේ මුහුණින් සතුට වැහි වහින්නාක් මෙන් විය. අපි දෙදෙන ඇඳ මත දිගාවී ගුවන් විදුලි යන්ත්‍රය බඩ මත තබාගෙන, කලකට පසු අසන්නට ලැබුණු සිංහල ගීත කීපයක රස වින්දෙමු.

නොබෝ වේලාවකින් නිමල් සංගීතයෙන් සෑහීමට පත්විය. ඔහු ඊලඟට අතට ගත්තේ කැමරාවය. එය අතපත ගාමින් හෙතෙම ඡායාරූපයක් ගන්නටයයි ඇවිටිලි කරන්නට විය. මම නැගිට ගුවන් විදුලි යන්ත්‍රය නිහඬකොට කැමරාව අතට ගත්තෙමි.

''පොටෝ එකක්නං ගතහැකි. ඒ උනාම ඉතිරි හරිය කරන්නෙ කොහොමද?''

''මොනවද ඉතිරි හරිය?''

''පොටෝ එක ගත්තට පස්සෙ කළුවර කාමරේක ඉඳගෙන සේයාපටිය සෝදන්න ඕන. ඒකට රසායනික වතුර ජාතියක් ඕන. ඊට පස්සෙ වේලුණාම කාඩ් එකක ප්‍රින්ට් කරන්න ඕන. එතකොට තමයි පොටෝ එක අපිට දකින්න පුළුවං.''



ඔහු දිග සුසුමක් හෙලීය.

''ඒකත් එහෙමද? හොඳයි අපි දැනට පින්තූරයක් ගමුකො. ගෙදර ගිය දවසක පොටෝ සාප්පුවකිං ඉතිරි හරිය කරවගන්න බැරියැ?''

''ඔව් ඒක හොඳ අදහසක්. අපි මෙකෙ ජීවත් උන හැටි අපේ ගෙවල්වල උදවියටත්, පෙන්නන්න පුළුවං හින්ද ඒක හොඳ අදහසක්. එහෙනං පින්තූරයක් ගමු.''

මම කැමරාව විවෘතකර සේයාපටි රෝලක් ඇතුල්කොට කරකවා ලෙන්සය සකස්කර ගතිමි. තාත්තාගේ කැමරාවෙන් පින්තූර ගෙන පුරුදු නිසා මට මෙය මහ කාරියක් නොවිය.

''හැබැයි මට දෙස් තියන්න එපා පින්තූරෙ කැත උනාට.''

''හා එහෙම කරන්න එපා. ලස්සනට ගන්න ඕනෙ.''

''ඔයාගෙ හැටියට පින්තූරෙ ලස්සන වේවිද? කොන්ඩෙ වැවිල අවුල් වෙලා. කොටකලිසං කබල ඉරිලා. රිලා පැටියෙක් වගේ ඉන්න කොට පින්තූරෙ විතරක් ලස්සන වේවිද?''

නිමල් මිදුලේ සිටුවා මඳක් ඈතට ගිය මම ඔහුගේ උඩු කය පමණක් ඇතුළුවනසේ ලෙන්සය සකස්කොට පින්තූරයක් ගතිමි. මගේ පින්-තූරයක් ගැනීමට ඒ සමගම ඔහුට ඕනෑ විය. මම කැමරාව සකස්කර ඔහු අතට දී පසෙකින්

සිටගන්නෙමි. ඔහු කැමරාව මා දෙසට එල්ල කොට මදක් පස්සෙන් පස්සට ගොස් පින්තූරයක් ගත්තේය.

ක්ලික්!

‘‘හරි. දූං යන්න පුළුවං’’යි කියා ඔහු කැමරාව මා අතට දුන්නේය. අපි ආපසු ගොස් ඇඳ මත හාන්සි වූවෙමු.

‘‘දූං ඉතිං නන්දන කියන්න ඕන කොහොමද මේ කැමරාවෙ අපේ පින්තූර වැටෙන්නෙ කියල’’

‘‘පින්තූර වැටෙන්නෙ මෙහෙමයි. මේ කාචය තියෙනව නේද? මේක උත්තල කාචයක්. ඒ කියන්නෙ බනිස් ගෙඩියක වගේ මැදින් පිටට නෙරල තියෙන වීදුරු කෑල්ලක්. මේ කාචය තමයි කැමරාවෙ ඇහැ.’’

‘‘අපේ ඇහැ වගේ ඇහැක්ද?’’

‘‘ඔව් ඔව් අපේ ඇහැ වගේ ඇහැක් තමයි. උත්තල කාචයකට එක පැත්තකිං වැටෙන ආලෝකය අනික් පැත්තෙං පිටවෙන කොට කැටි වෙනව. ඒ කියන්නෙ කුඩා වෙනව. එහෙම වෙලා එක තැනකදී එකතු වෙනව. ඒකට කියන්නෙ අභිසාරී වෙනව කියල.’’

‘‘හෝ හෝ මං දන්නව නන්දන කියන එක. අපි පලිඟු කෑල්ලක් අව්වට අල්ලල යටිං පුළුං කෑල්ලක් තියල ගිනිදල්වල තියෙනව. ආලෝක කිරණ එකතුවෙන තැනදි තමයි පුළුං කෑල්ල ගිනිගන්නෙ. ඒක නේද ඔය කියන්නෙ?’’



‘‘ඔව් ඒක තමයි. ඒ වගේ කැමරාවෙ කාචයෙං ආලෝක කිරණ ඇතුළට යනකොටත් අභිසාරී වෙනව. ඒ කියන්නෙ ඉස්සරහිං තියෙන දර්ශනය කාචයෙං ඇතුළට යනකොට කුඩා දර්ශනයක් වෙලා සේයා පටිය ඇඳෙනව. සේයා පටියේ ආලේප කරල තියෙනව රසායනික බෙත් ජාතියක්. සේයා පටිය නිතරම තියෙන්නෙ අඳුරේ. ඒ මොකද, අර බෙත්ජාතිය ආලෝකය වැටුණු හැටියේ පිච්චෙන නිසා. අපි කැමරාව ක්ලික් කළාම කාචය විවෘත වෙලා, දර්ශනය කුඩා වෙලා අර සේයා පටියෙ වැටෙනවා. ඒ ආලෝකය නිසා සේයා පටියෙ අර බෙත් ජාතිය පිච්චිලා දර්ශනය විතරක් කලුවට ඇඳෙනව.’’

‘‘නන්දන දූන්නං බඩත් ගිනියි.’’

‘‘එහෙනං ගිහිල්ල උයාගෙන කමු.’’

අපි ගුවන් විදුලි යන්ත්‍රයත් රැගෙන වාඩියට ගොස් තක්කාලි හොද්දක් හා කරවල බැදුමක්ද හදගෙන දවාලට බඩපුරා බත් කෑවෙමු. ඉක්බිති බූරු ඇඳේ දිග ඇදී සිටින අතර නිමල් යෝජනාවක් ගෙනාවේය.

‘‘මාළු කාරයො ගියාට පස්සෙ අළුත් මාළු කෑල්ලක් කන්න බැරි උනා. නන්දන අපි යමුද මාළු බාන්න?’’

‘‘යෝජනාව නං හොඳයි. ඒ උනාට මං ප්‍රාණගාතෙටනං කැමති නැ.’’

'' අල්ලල දන්න ප්‍රාණගාතෙ. අළුත්මාළු කොච්චර රහද? කරෝල වලට වැඩිය කොච්චර ගුණද?''

''ආන්න බොරුවක් කිව්ව. කවුද නිමල්ට කිව්වෙ අළුත්මාළු කරවල වලට වැඩිය ගුණයි කියල?''

''කවුරුවත් කිව්වෙ නෑ. මං හිතුව. හොඳයි ඒක වැරදිද?''

''වැරදි තේන්නං. අපේ ඇඟට අවශ්‍ය ප්‍රෝටීන වැඩියෙං තියෙන්නෙ කරවල වල. අළුත් මාළුවල වගේ දෙගුණයකටත් වැඩියි. කරවල පොල් තෙලෙං බැදල ගත්තම තවත් ගුණ වැඩියි.''

''ඒ උනාට අළුත්මාළු රස වැඩියි නෙ. අනේ යංකො නන්දන''

''හොඳයි ඔච්චර ආසනං යමු. හැබැයි ඔන්න අද විතරයි. ඉතිං කොහොමද මාළු බාන්නෙ? කෝ බිලීපිත්තක්?''

''ඉන්න මං ටාර්ගාල ගේන්නං'' යි කියමින් ඔහු වාඩිය පිටුපස වෙරළ දිගේ ටික දුරක් දුව ගොස් කැලයට ඇතුළු විය. ඊළඟ මොහොතේ බිලීපිත්තකුත් ඔසවාගෙන ආපසු දුවගෙන ඇවිත් හති දමන්නට විය.

''මේක කොයින්ද නිමල්?''



''ඇයි ඔය තව තියෙන්නෙ? බිලිපිති විස්සක් විතර කැලේ තැනක තියෙනව. මුදලාලිට අහුවෙය කියල ඒව හංගලයි තියෙන්නෙ. වෙලපහිං වැඩ ඉවර උනදට කොල්ලො මාළු බානව.''

''මොනවද ඉතිං ඇමට ගන්නෙ?''

''පොල්!'' යයි කියමින් ඔහු ලිප ගාවට ගොස් පොල්බෑයක් හා පිහියද ගෙනැවිත් පොල්කෑලි උලුප්පන්නට විය. පසුව අපි අඩිපාර දිගේ කැලෑව මැදින් ගොස් මාළුඔරු නවතා ඇති වෙරළට ලඟාවීමු.

''කොයි හරියෙද නිමල්ල වෙනද මාළු බාන්නෙ?''

''එන්නකො මං පෙන්නන්න''යි කියමින් ඔහු දණක් පමණ දියඹට ගොස් නතර විය.

''එන්න නන්දන බය නැතුව එන්න''

බිලීකටුවේ පොල්කෑල්ලක් ඇමිණූ හෙතෙම පිත්ත ගස්සා ලණුව ඈත වතුරට වීසිකළේය.

''හැබැයි නන්දන වැඩි කතා බෑ.''

මම හිස හරවා නිසලව ගොඩ තිබෙන මාළුඔරු දෙස බලා සිටියෙමි. මාළුකාරයින් අද හිටියානම් මේ ඔරු මෙසේ නිදිකිරමින් සිටීද? මාළු මුදලාලිට කෙතරම් මාළු කන්දරාවක් මේ ඔරු සපයා දෙන්නට ඇද්ද? මේ වෙරළ මීට දින කීපයකට කලින් කෙතරම් කලබලකාරී ස්ථානයක්ව

තිබුණාද? කොල්ලන්ගේ විහිළුතහළු වලින් හැමු දවාලක්ම දෙඩමළු වී තිබුණු මේ වෙරළ අද කොච්චර නිශ්චලද? පාළුද?

මා සිතිවිලි සයුරේ ගිලී සිටිද්දී නිමල් බිලිපිත්ත ගස්සා ඇද්දේය. ලොකු පරා මාළුවෙක් බිලිං කටුවේ එල්ලී දිලිසි දිලිසි දඟලයි. ඔහු මාළුවා ලණුවෙන් එල්ලාගෙනම ගොඩට දූවගොස් බිලිකටුව උගේ කටින් ගලවා ගත්තේය. ජීවිතය බේරා ගැනීමේ නිහියුණු සටනක යෙදී සිටින අසරණ සතාගේ දඟලිල්ල තවදුරටත් බලාසිටිනු නොහැකිව මම අනික් පැත්තට හැරුණෙමි. ටික වේලාවකින් මා නැවතත් ඒ පැත්ත බලන විට, නිමල් තවත් පොල්කැල්ලක් බිලිකටුවේ අමුනණු දුටුවෙමි. මට ඔහු කෙරෙහි හටගත්තේ කෝපයකි.

''අනේ නිමල් ඕය ඇති. අපි දෙන්නට මේ මාළුව කාල ඉවර කරන්න පුළුවන්ද? අද ගිහිල්ල වෙන දවසක එමු.''

''තව චුට්ටක් ඉවසන්නකෝ නන්දන. තව එකෙක් බාගනිමු. එකම එකයි.''

ඔහු බිලිපිත්තත් රැගෙන නැවතත් දියඹට ගමන් කරයි.

''එහෙනං ඕනතරං බාගෙන එනව. මං යනව. මට මාළු එපා. බාගෙන තනියම කන්න.''

මම කරබාගෙන වෙරළ දිගේ වික්දුරක් ආපසු ආවෙමි.



''උපාසක උන්නැහේ තරහ උනාද''යි කියමින් ඔහුත් මා පසුපස එනු ඇසිණ.

වාඩියට ගිය සැණෙකින් ඔහු මාළුවා ශුද්ධ කිරීමට පටන් ගත්තේය. අළු ටිකක් ගෙන ඌ මත විසුරුවා හළ හෙතෙම ඌ කපන්ට සූදනම් වී මට කතා කළේය.

''මේ බලන්න නන්දන මූට නාම පණයි. කට අරිනව වරල් පුම්බනව.''

''ඒ ඌ හුස්ම ගන්න මාන්සි ගන්නව. පව්! කොච්චර වෑයම් කෙරුවත් ඌට හුස්ම ගන්න බෑ.''

''ඇයි බැරි?''

''මාළුන්ට හුස්ම ගන්න පුළුවං වතුරෙදි විතරයි. ඌ කටඇරල කට ඇතුලට වතුර ගන්නව. ඊලඟට කට පියාගෙන කරමල්වලිං වතුර පිට කරනව. එතකොට වතුරෙ දියවෙලා තියෙන ඔක්සිජන් වායුව කරමල්වල තියෙන හීං ලේනාළ වලට උරාගන්නවා.''

''එතකොට වතුරෙ ඔක්සිජන් තියෙනවද?''

''ඇයි නැත්තෙ? වතුරෙ ඔක්සිජන් දියවෙලා තියෙනව. වතුර හැදිල තියෙන්නෙත් ඔක්සිජනුයි හයිඩ්‍රජනුයි එකතු වෙලා නෙ.''

''අපිටත් පුළුවන්ද ඔක්සිජනුයි හයිඩ්‍රජනුයි එකට දල වතුර හදන්න?''

''ඇයි බැරි? අපි ඉස්කෝලෙ රසායනාගාරෙදි ඔය විදියට වතුර හදල තියෙනව. ඔක්සිජන් එක කොටසකට හයිඩ්‍රජන් කොටස් දෙකක් දැම්මම වග්ගාල වතුර හැදෙනව.''

නිමල් හිය ඔසවා උනන්දුවෙන් මා දෙස බැලීය.

''ඉනි අපිත් වතුර ටිකක් දැං හදමුකො.''

''මෝඩයා! මෙහෙදි හදන්න කෝ ඔක්සිජන්? කෝ හයිඩ්‍රජන්? ඒ වායු දෙක වෙන වෙනම තියෙන්න එපායැ? කෝ ඒවට අවශ්‍ය උපකරණ?''

ඔහු බලාපොරොත්තු සුන්වූවකු මෙන් කරබා-ගෙන නැවතත් මාළුවා කැපීම කරගෙන ගියේය.

''කොරපොතුයි වරලුයි නොතිබුණානං වෙ වැඩෙ කොච්චර ලේසිදැ''යි ඔහු මුමුනණු ඇසිණ.

''ආ ඒව නැතුව ඌ ජීවත්වෙන්නෙ කො-හොමද?''

''මොකක්ද කොරපොතුවලිං ඌට ඇති වැඩෙ?''

''ඇයි ආරක්ෂාව? වෙන මාළුංගෙන් ආරක්ෂා වෙන්න කොරපොතු උදව් වෙනව. ගල්පරයක එහෙම හැපුණාම ඇඟ සීරීම වළකිනව.''

''එතකොට වරල්?''



''වරල් පීනන්න උදව් වෙනව. ඒ වගේම වතුරෙ නොපෙරලී සමබරව ඉන්න උදව් වෙනව.''

මාළුවා කපා හමාර කළ ඔහු ගොරක හා මිරිස් අඹරා කලවම් කර මාළුහට්ටිය ලිපේ තැබීය. මම එළවලු පාත්තියට ගොස් පැල ටික පරීක්ෂා කර බැලීමි. ඊයේ මැලවී තිබුණු පැල අද හොඳට පණ ලබා ඇත. මේවාට පෝර ටිකක් දමා දිනපතා වතුර වත්කළොත් සරුසාර වගාවක් ඇතිකර ගැනීමට පුළුවන් බව පෙනේ. ඒ සිතුවිල්ලත් සමගම මම කරවල මඩුවට ගොස් කරවල රොඩු ටිකක් ගෙනැවිත් අළු සමග මිශ්‍රකර පැල වටේ දමා වතුර වත්කරන්නට පටන් ගතිමි. සුළු වේලාවකින් නිමල්ද එතනට පැමිණියේය.

''මාළු උයල ඉවරදැ''යි මම ඇසීමි.

''උයල බාල කෑල්ලකුත් කාලයි මං මේ ආවෙ''

''එහෙනං කැදරය දැං පැලවලට වතුර ටිකක් දන්නකො''

ඔහුට වතුර ඇද වත්කරන්නට ඉඩදී මම කොටයක් මත වාඩිවී ටිකක් විවේක ගත්තෙමි.

''මොනවද නන්දන මේ දල තියෙන්නෙ? කරෝල රොඩුයි අළුයි නේද?''

''හොඳ පෝර නැති හින්ද මං ඔහෙ ටිකක් දැම්ම. ඕවත් නරක නැහැ.''

''හොඳ පෝර කිච්චෙ ගොමද?''

"ගොමත් හොඳ පෝරත් තමයි. මට මතක හැටියට පැලවලට අවශ්‍ය මූලද්‍රව්‍ය තුනක් තියෙනව. නයිට්‍රජන්, පොස්පරස්, පොටෑසියම් කියල. නිමල්ට මතකද ඒ වචන? නයිට්‍රජන්, පොස්පරස්, පොටෑසියම්?"

"මතකයි මතකයි. නයිට්‍රජන්. පොස්පරස්, පොටෑසියම්. හරිද?"

"හරි හරි. මේ මූලද්‍රව්‍ය තුනම අඩංගු පෝර තමයි හොඳ පෝර. කරවල රොඩු වලිනුත් නයිට්‍රජන් ලැබෙනව. අළුවලිං පොටෑසියම් ලැබෙනව. අර කියාපු මූලද්‍රව්‍ය තුනම අඩංගු පෝරක් තමයි කොම්පෝස්ට් පෝර. ඒවනං එළවලු වලට නියමයි."

"අපිට කොයින්ද කොම්පෝස් පෝර තෝද නන්දන?"

"හා ඇයි එහෙම කියන්නෙ? කම්මැලි නැතුව ටිකක් මහන්සි වෙනවනං ඕන කෙනෙකුට පුළුවං කොම්පෝස්ට් පෝර ටිකක් හදගන්න. වළක් කපල කොළ, රොඩු, කුණු, කරවල රොඩු, එනකොට කුස්සියෙං අහක දමන දේවල් ඒ වළේ දල කලවං කරල දිරල ගියාට පස්සෙ ගන්නම් ඒව තමයි කොම්පෝස්ට් පෝර කියන්නෙ."

"ඇත්තද? එහෙනං අපි හෙටම පෝර වළක් කපමුකො"

"හොඳයි හෙට බලමු. හැබැයි කම්මැලි නැතුව වැඩේ කරන්න ඕන."



එදින රෑ බත් උයා පොල් ගාගෙන අවන් මාළුත් සමග වේලාසනින්ම කෑවෙමු. කෑමෙන් පසු කතා කරකර සිටින අතර නොබෝ වේලාවකින් නිමල්ට නින්ද ගියේය. නිදිමත නැති නිසා මම ඉදිරියට ක්‍රියාත්මක කරන්නට තිබෙන නොයෙක් යෝජනා ක්‍රම ගැන බුරු ඇඳේ හාන්සි වී කල්පනා කරන්නට වීමි.

හෙට දවස ගෙවෙන්නට කලින් පාර කපා ඉවර කළයුතුය. එවිට අනිද්ද වීතර කාමරයේ පදිංචියට යාමට පුළුවන. එහි පදිංචි වීම මෙහි සිටිනවාට වඩා හැම අතින්ම ආරක්ෂා සහිතය. එතන මීට වඩා පිරිසිදුය. කරවල ගඳ, දූවිල්ල හා මුහුදේ නිරන්තර ගෝසාව නිසා මෙහි හරියකට නින්දවත් යන්නේ නැත. එහෙත් මේ මිනිහා නම් දූනටම ගොරව ගොරවා නිදිය. හැබැටම මෙහෙමත් ගෙරවිල්ලක්! මිනිහා පුංචි උනාට ගෙරවිල්ලනම් පුංචි නැත. මිනිහාගේ නහය ඇතුළට මාත් ඇදිලා යාවිදෝයි මට සැකය! වැටුන හැටියේ නින්ද යන්නේ මෝඩයින්ටයයි කියනු මා අසා ඇත. මෙයා කෑමටත් පුංචි නැත. මා කෑවේ මාළුකෑලි හතරය. ඉතිරි හරිය ඔක්කෝටම වැඩ්දුන්නේ මෙයාය!

නිමල් සිහිනෙන් මොනවාදෝ කුටුකුටු ගා අනික් පැත්තට හැරී නැවතත් ගොරවන්නට විය.

පෝර වලවලුයි එලෝලු පාත්තියි පාරවලුයි අරකයි මෙකයි හදහද මෙහි සිටින්නේ කුමටදැයි එක අතකට සිතේ. මින් පිටවී යාමට මාර්ගයක්

ගැන කල්පනා කිරීම සියල්ලටම වඩා හොඳය. නාකිවෙනකල් මේකෙම ඉන්ටද? පිටවී යන මාර්ගයක් පාදගන්නේ කෙසේද?

මාළුකාරයින්ගේ ඔරු නම් ඇත. එහෙත් ඒවා පැදගෙන මහමුදේ යන්නේ කොහොමද? සුලඟට අසුවී වෙනත් පැත්තකට ගසාගෙන ගියොත්? කුණාටුවකට අසුවී ඔරුව පෙරලුණොත්? ඔරුවක නැගියාම එතරම් ගුණ නැත. වෙනත් කරන්නට දෙයක් නැද්ද?

අපි පාසලේදී කළ එක් පරීක්ෂණයක් මට මතක් විය. එනම්, හයිඩ්‍රජන් වායුව පුරවා බැලූනයක් උඩ යැවීමේ සුළු පරීක්ෂණයකි. එවැනි බැලූනයක් හද ලියුමක් එල්ලා අහසේ පාකර යැව්වොත් නරකද? එය ගොඩබිම කවුරු අතට හෝ පත්වී අපව බේරා ගැනීමට මාර්ගයක් නොපැදේද? එහෙත් බැලූනයක් යැවීමට අවශ්‍ය දේවල් මෙහිදී සොයා ගන්නේ කෙසේද? හයිඩ්‍රජන් වායුව නිපදවීමට අවශ්‍ය අලුහුණු, දෙවුම් සෝඩා, තුත්තනාගම්, විනාකිරි ආදිය මෙහිදී සොයා ගන්නේ කෙසේද? ලුණුවතුර විද්‍යුත් විච්ඡේදනය කිරීමෙනුත් හයිඩ්‍රජන් වායුව නිපදවා ගතහැක. ඒත් බැලූනයක් කෝ?......

ඉන් එහාට කල්පනාවූ දේවල් මට අමතකය. මට නින්ද යන්නට ඇත.

උදේ මට ඇහැරෙන විට කෙතරම් දවල්වී තිබුණාදැයි කියතොත්, නිමල් තේ වත්කර රොටි පුච්චා තිබුණේය. මම මුහුණ සෝදගෙන ඔහු සමග තේ බීවෙමි.



''මුල්වලිං උරාගන්න වතුර කඳ ඇතුලෙ තියන දිග සෛල දිගේ උඩට ගිහිං ගෙඩිවලට යනව. හරිද?''

''හරියට හරි. දූං තේරෙනව නේද මේ පොළව කොයිතරං වේලිල තිබුණත් වතුර තියෙන බව?''

''හ්ම! හ්ම!'' යි කියමින් ඔහු නැවත වැඩ ආරම්භ කළේය.

කුරුම්බා වතුරෙන් හොඳටම බඩ පිරී ඇති හෙයින් දවාලට බත් නොඋයන්නට නිමල් යෝජනා කළේය. වැඩි වේලාවක් යන්නට මත්තෙන් කුරුම්බා වතුර මූත්‍ර මගින් පිටට ගොස් වෙනදටත් වැඩියෙන් බඩගිනි දැනෙනු ඇතැයි මම පැවසීමි. ''හොඳයි බලමුකෝ'' යි කියා මගේ කීම ගණන් නොගත් ඔහු දිගටම වැඩ කරගෙන ගියේය. එහෙත් නොබෝ වේලාව-කින් කැත්ත පසෙක තැබූ ඔහු මූත්‍රා කරනු මම දුටුවෙමි.

''හෝ! හෝ! මොකද ඔය කරන්නේ?''යි මම ඇසුවෙමි. ඔහු මා දිහා බලා සිනාසුණා මිස කිසිවක් කීවේ නැත. මා කී දෙය ඇත්ත බව දැන් ඔහුට වැටහී ඇති සේය.

''ළමයො ඕක ලජ්ජා වෙන්න කාරණයක් නෙමෙයි. මමත් දූං චුට්ටකට ඉස්සෙල්ල ඔය වැඩේ කළා. ජලය වැඩිපුර ගත්තම ශරීරය ඒව මූත්‍ර මගින් පිට කරනව.''

''නන්දන කියාපු එක ඇත්ත. ඒ උනාට ඔක ඔච්චර ඉක්මනට වෙව්ය කියල මං හිතුවෙ නෑ.''

''ඒකට හේතුව මෙකයි. වෙන දේවල් වලට වැඩිය ඉක්මනට ජලය ශරීරයට උරාගන්නව. ජලය ලේවලට උරාගෙන වකුගඩු වලදී පෙරිල මුත්‍ර ආකාරයෙන් පිටවෙලා යනව.''

දවල් එකොළහ පමණ වනවිට පාරෙන් බාගයකටත් වැඩිය හද ඉවර කරන්නට අපට පුළුවන් විය. කලින් කීවාක් මෙන් දෙදෙනටම ගොඩාක් බඩගිනි විය. අපි වැඩ නතරකර වාඩියට ගියෙමු.

මහන්සියෙන් වැඩකළ නිසා නිමල්ට ගුවන් විදුලියට සවන් දීමට ඉඩහැර, මම හාල් ගරා ලිපේ තැබුවෙමි. ඉක්බිති පාත්තියෙන් මැකොල ටිකක් කඩාගෙනැවිත් මැල්ලුමක් හැදුවෙමි. නිමල්ගේ ඉල්ලීම උඩ, ඉතිරි මාළුටිත් එකද කඩා උයාගෙන බත් කැවෙමු. නිමල් මැකොල මැල්ලුම බෙද නොගත් නිසා ඒ ගැන මම ප්‍රශ්න කළෙමි. මැකොල වල ඇති ගුණය මොකක්දැයි ඔහු සරදමට මෙන් ඇසිය.

''මැකොල වල වැඩි ගුණයක් නැති වෙන්න පුළුවං. ඒ උනත් හොඳ පලාවර්ග නැති වෙලාවට මැ කොලවත් කන එක හොඳයි. ශරීරයට අවශ්‍ය හුඟක් ඛනිජවර්ග තියෙන්නෙ පලාකොල වල.''

''ඛනිජවර්ග කීවෙ මොනවද?''



''ඛනිජවර්ග කීවෙ—මට මතක හැටියට කැල්සියම්, යකඩ, අයඩින්, පොස්පරස්, එතකොට සෝඩියම්—ඕව තමයි.''

''ඒවයිං ඇති වැඩෙ?''

''අපේ ඇටයි දතුයි වැඩෙන්න කැල්සියම් පොස්පරස් කියන ඒව උදව් වෙනව. යකඩ ඕන ලේ වඩන්න. අයඩින් අඩු උනාම බෙල්ලෙ වායුගෙඩි හැදෙන්න පුළුවං.''

''නන්දන, මට මතක් උනා අපේ ගම් පැත්තේ නාකි ගෑනියෙක් ඉන්නවා බෙල්ලෙ වායු ගෙඩියකුත් එක්ක. හරියට කට සැරයි. බනින්න ගියාම කියන්නෙ අමු කුණුහරුප. මිනිස්සු කියනව ඔය වායුගෙඩිය හැදිල තියෙන්නෙ කුණුහරුප කියන හින්දයි කියල.''

''නෑ ඒක නෙමෙයි. වායුගෙඩි හැදෙන්නෙ අයඩින් අඩු උනාම. බෙල්ලෙ තියෙන තයිරොයිඩ ග්‍රන්ථිය මහත් වෙන එකටයි වායු-ගෙඩිය කියන්නෙ.''

''අයඩින් හම්බවෙන්නෙ මොනවයින්ද?''

''අපි බොන වතුරවලිං—එතකොට අළුත් මාළුවලිං''

නිමල් නැගිට මට ඇඟිල්ල දික්කර ගෙන කතා කළේය.

''ආන්න ඒක තමයි මං කියන්නෙ අපි හැමදම මාළුබාන්න යමු කියල. තේරුණාද? නන්දන හිතන්න ඇති මං මේ කෑදරකමට කියනවයි කියල.''

''හා හා ඇති ඇති! අයඩින් ලබාගන්නෙයි කියල හැමදම මාළු කන්න ඕන නෑ. බොන වතුරෙනුත් අයඩින් ලැබෙනව නෙ.''

ඉන්පසු කෑම කා අවසන් වනතුරු ඔහු කතා කළේ නැත. එහෙත් කෑම අවසානයේ මා ළඟට හෙමින් කිට්ටු කළේය.

''නන්දන අපි යමු මේ වරුවෙ මාළුබාන්න''

කවදහරි පාර හද ඉවර වනතුරු මාළුබෑමට යාමට මා නම් නොඑන බව මම තරයේම පැවසීමි. මඳ වේලාවකට පසු ඔහු මටත් කලින් ගොස් කැත්ත ගෙන පාරේ වැඩ පටන් ගත්තේය.

නිමල් මෙවර මටත් වඩා මහන්සි වී පාර කපයි. වරින්වර දෙඅත්ලට කෙළපාරක් ගසා පිරිමැද කැත්ත අල්ලන හැටි මම හොරැහින් දුටුවෙමි. ඔහුට අවශ්‍ය අදම කොහොමහරි පාර හද ඉවර කරන්නටය. මාළුබාන්න තියෙන ආසාවක තරම!

එහෙත් පැයක් පමණ වේලා වැඩ කරන විට ඔහුගේ වේගය අඩුවී යනු පෙනිණි. ''හරි අමාරුයි'' කියමින් හෙතෙම ඇණතියා ගෙන හති අරින්නට පටන් ගත්තේය. ඔහු ගැන මට අනුකම්පාවක් ඇති විය. එහෙයින් සුළු විවේකයක් දීමේ උපක්‍රමයක් ලෙස සලකා තේවතුර වත්කරන්නට වාඩියට යැවීමි.

නිමල් ගිය පසු මම තනිවම වැඩෙහි යෙදුණෙමි. දැන්නම් මගේ අත්වලත් හොඳටම කරගැට මතුවෙලාය. ඒත් ඉතිං කාට කියන්නද?



හැකිතරම ඉක්මණින් පාර හදගෙන කාමරයේ පදිංචියට යනතුරු මේ දුක් ඉවසිය යුතුය. කාමරයට ගිය පසු අඩුගණනේ අත්පා දිගහැර නිද ගන්නටවත් පුළුවන. නිමලුත් සමග එකට බූරුඇඳේ නිදගැනීම දැන් මට එපාවෙලාය. කාමරයට ගියවිට ඔහුට මුදලාලිගෙ මෙට්ට ඇඳ දී මට බූරු ඇඳේ තනිවම නිදගත හැක. සිමෙන්ති දැපු නිසා එහි බිම වුවත් නිදගන්නට බැරියැ?

මඳ වේලාවකින් නිමල්ගේ වූන් එක ඇසෙන්නට විය.

තන් — නා නේ නන — තන් — නා නේ නන —

''මෙන්න තේ ගෙනාවෝ... ලොකු උන්නැහේ තේබිලා හිටින්නෝ......''

මම තේ කෝප්පයක් වත්කර ගෙන අල්ලට සීනි ටිකක් හලා ගත්තෙමි. ඒ සමගම, සීනි තත්වය ගැන සොයා බලන්නට මට සිත්විය.

''දැං සීනි තත්වෙ කොහොමද නිමල්?''

''සීනි තත්වෙ වැඩි හොඳකුත් නෑ, වැඩි නරකකුත් නෑ. තව ඉටිබෑග් දෙකක් පුරවල තියනව.

''සීනි පරිස්සමෙං පාවිච්චි කරන්න ඕනෙ. තව සුමාන දෙක යනකොට ඔයටික ඉවර වේවි.''

''එතකොට මොකද කරන්නෙ?''

''කරන්න එකක්නං තියෙනව. හැබැයි හරියාවිද කියන එකයි බය.''

''මොකක්ද නන්දන, මොකක්ද? වැඩේ කියන්නකො මට. එතකොට මං කියන්නං හරියාවිද නැද්ද කියල.''

මීට කලිනුත් කීප වතාවක් මා කල්පනා කර තිබුණු අදහසක් මම ඔහුට හෙළි කළෙමි.

''අපි පොල්මලක් මදිමු!''

''ආයිස් අප්පඩා! අපිට රා බොන්නත් පුළුවං නේද නන්දන. රාබීල වෙරිවෙලා කරෝල මුදලාලියාට බනින්නත් පුළුවං. අපි දන්න ඔක්කෝම කැලි දල බනිමු.''

ඔහු කැත්ත වීසිකොට නැගෙනහිර පැත්තට හැරී, උගුර හයියෙන් පාද, අත්පා ලෙලවමින්, යටිගිරියෙන් කෑගසන්නට පටන් ගත්තේය.

''අඩෝ කරෝල මුදලාලියෝ, තෝ අපිව මේ පාළුදූපතකට ගෙනැහිල්ල දල හිරකරල තියල ඔහේට වෙලා රජසැප විඳිනව නේද ඩෝ? මූසලයා තෝ බලාගෙන හිටු පරබල්ලා. තෝ අපි දෙන්නව අඳුනන්නෙ නෑ බොල. අපි දෙන්න කවදහරි එනවා තෝව හම්බවෙන්න. ඇවිල්ල තොගේ හොම්බ රිවෙට් වෙන්න උඩ-පැනල පයින් දෙන්නෙ මෙන්න මෙහෙමයි ඩෝ. තොට ගහන්නෙ උඩපැනල උඩදි. පර හිවලා. තෝ පරිස්සමිං හිටු. නරියා ඌරා ප්‍රේතයා බල්ලා. තෝ අපිට කියල කරෝල වේලව ගෙන



විකුණලා සල්ලි හම්බකරන්නද හිතුවෙ මඩ ඌරා. තෝ හිතුව මදි බොල. තොට කරෝල වේලන්න අපි? හහ්! ඒ කාලෙ ඉවරයි කියල හිතාගනිං ඩෝ. දූං තෝ කරෝල වේලාපිය අපිට.''

මා හැර වෙන සංවුරුවත් අහගෙන නැති නිසා ඔහුට ඕනෑ දෙයක් කියන්නට ඉඩදී මම බලාගෙන සිටියෙමි. ඔහු බැන අවසන් වූ විට මම කතා කළෙමි.

''මං පොල්මලක් මදින්න හැදුවෙ රා බොන්න නෙමෙයි ඔයි පැණි උණුකරන්න.''

''ආ එහෙමද? එහෙමනං මං නිකා ඉන්නං. නැත්තං ඌට මං අද......''

එද සවස හය පමණ වන විට යන්තම් පාරේ වැඩ ඉවරකර ගතහැකි විය. පාර කපාගෙන යද්දී කැලෑව අතරින් වාඩිය පෙනෙන්නට පටන්-ගත් විට අප දෙදෙනාටම පෙර නොවූවිරූ උද්‍යෝගයක් ඇති විය. උත්සාහයේ ප්‍රතිඵල අතලඟ බව පෙනීමෙන් උපන් ඉමහත් සතුට නිසා අවසාන කොටසේදී අප වැඩ කළේ කඩියන් දෙදෙනෙකු මෙනි. සවස හය පමණ වන විට, දූපතේ එකම මහා මාර්ගය කැපීමේ මහා ශ්‍රමදාන ව්‍යාපාරය අවසන් කොට, ජයග්‍රාහී විලාසයෙන් අපි වාඩිය ඉදිරිපිට කැලයෙන් එළියට මතු වීමු.

එදින රාත්‍රී කෑමෙන් පසු නිමල්ට පමණක් නොව මටද වෙනදට වඩා හොඳින් නින්ද ගියේය.

පසුදින උදේ නැගිට්ට හැටියේම මා දිව ගියේ අපේ අභිනව මහා මාර්ගය නරඹන්නට්ය. මා පාර දෙස ඇසිපිය නොහෙළා බලා සිටින අතර නිමල්ද එහි පැමිණියේය. තමා පැමිණියේ තේ වත්කර තේ එකකුත් බීලායයි ඔහු කීය. මා කෙතෙක් වේලා එහි බලා සිටින්නට ඇද්දැයි වැටහුණේ එවිටය. ඔහු මෙතෙක් වේලා සාක්කුවේ දමාගෙන සිටි කඩදසි කෑල්ලක් එළියට ගෙන කෝටුවක අමුණා පාරේ පැත්තකින් සිටුවිය. එහි ''නන්දන මාවත'' යන අකුරු අහුරු කෑල්ලකින් ලියා තිබෙනු දැක මට සිනා ගියේය. පාරේ වර්ණනාව ගැන ඊලහට ඇතිවූ දීර්ඝ සාකච්ඡාවෙන් පසු ඔහු සුපුරුදු ලෙස ප්‍රශ්න යක් නැඟීය.

''අද මොකක්ද වැඩේ? කාමරයට බඩු අදිමුද—පොල්මල මදින්ට යමුද—පෝර වල කපමුද—එහෙම නැත්තං මාළු......''

''කෝක කරන්නත් උදේට කාල හිටින්න එපායැ. යමු රොටි පුච්චන්න.''

රොටි හදගෙන කෑමෙන් පසු අපි කුමක් කරන්නටදැයි තීරණයක් ගත නොහැකිව අළුත්පාර දිගේ ගමන් කරමින් සිටියෙමු. මාළු-කාරයින්ගේ වාඩිය හරහා රවුම්පාරෙන් යනවාට වඩා, මුදලාලිගේ කාමරයට මේ පාර කෙතරම් කෙටිදැයි අපට ප්‍රථම වරට වැටහුණේ එවිටය. කාමරයේ පදිංචිවූ විට, එළවලු පාත්තියට සාත්තු කිරීමටත් නෑමට හා වතුර ගෙන ඒමටත් යාම දැන් ඉතින් අපට අමාරුවක් නොවනු ඇත.



අළුත්පාර දිගේ ගමන් කොට කාමරයට ළඟා වෙද්දී මගේ දෑස ඉබේම පොල්ගස වෙත යොමු විය. මම ගසට කිට්ටුවී මදින්නට සුදුසු මලක් තිබේදැයි පරීක්ෂා කළෙමි. මේ කරන්නට යන්නේ කවරදකවත් නොකරපු පැහිච්චකමක් නොවේදැයි මගේ සිත මට කියයි. අප කුඩාකල ගමේ සිටිද්දී එක් ගෙදරක පොල්මලක් මැදපු හැටි මට යන්තමට මතකය. මැදීමට සුදුසු වනුයේ මෝරපු මලක්ද, ළපටි මලක්ද? මල තැලිය යුතු බව අසා ඇතත් එය කරනහැටි මම නොදනිමි. තලාපු මලට මොනවාදෝ කොල වගයක් තබා බඳින්නට ඕනෑ නේද? ඒ කොල මොනවාද? මට මතක උදේට සහ සවසට මල කපා මුට්ටියක් එල්ලන බව පමණකි. අර කිසිවක් හරියට නොදැන පටන් ගත්තොත් වැඩේ කොටඋඩ යයිද?

මෙසේ සිතුවිලි ගොඩක පැටලී පොල්මල දෙස බලා සිටින අතර, ඉහිරීගිය පොල්මලක වසා සිටි මීමැස්සන් දෙතුන් දෙනෙකු දැකීමෙන් මගේ කල්පනාව හදිසියේම වෙනතක යොමු විය.

මීමැස්සන් සිටීමෙන් හැඟෙනුයේ කිට්ටුවක මීයක් ඇති බවක් නොවේද? මීමැස්සන් මල්-වලින් රොන් ගෙන ඉතා ඈත—සමහර විට සැතපුම් දෙකතුනක් වුවද යන බව මා අසා ඇත. එහෙත් මුන්නම් මේ දූපතට පිටින් ආවා වෙන්නට බැරිය. මෙහි තිබෙන එක පොල් ගසකට මුදෙන් එතර සිට රොන් ගෙන යන්නට එයිද? මේ දූපතේ කොතන හෝ මීයක් තිබිය යුතුය.

එය සොයා කඩාගත්තොත් නොදන්නා පොල්-මැදිල්ලට වඩා කෙතරම් පහසුවක්ද? මී පැණි බෝතල දෙකතුනක් හදගන්නට ඇත්නම් සීනි නැතිවාට මාසයක්වත් පිරිමසා ගන්නට පුළුවන. හැබැයි, කවුරුවත් හොරා නොකැවොත්!

මම නිමල්ට කතා කළෙමි.

''නි—මා—ල්, මොකද හොරා වගේ කාමරේට වැදිලා කරන්නේ? බඩුවක් කියන්න මෙහාට එන්—න—කෝ''

ඔහු සුරුස් ගා දිව ආයේය.

''මං මේ මුදලාලිගෙ දුනුපිහිය හෙව්ව. හැම-තැනම අවුස්ස අවුස්ස බැලුවා. පොල්මල කපන්න හොඳට කැපෙන පිහියක් එපාය?''

''නිමල්, අර පොල්මල දිහා බලන්න. අර ඉහිරිච්ච එක දිහා. මොකුත් අමුත්තක් එහෙම පේනවද?''

''මොකක්ද අමුත්ත? පොල්මල ඉහිරිලා තියෙනව. ඉතිං ඒකෙ තියන අමුත්ත මොකක්ද?''

''හොඳට කල්පනාවෙං බලන්න''

''ම—හු!''

''මීමැස්සො වගයක් ඉන්නව පේන්නෙ නැද්ද?''

''ආ ඒකද? ඒකනං පේනව. ඒක අමුත්-තක්ද?'



''ඉතිං ඒකෙං මොකක්ද තේරෙන්නෙ?''

''මීමැස්සො පොල්මලෙං රොං ගන්න විත්තිය.''

''රොං ගන්නෙ මොකටද?''

''මීයක් බඳින්න නෙ! හැබැට නන්දන ඔකත් දන්නෙ නැද්ද?''

''නෑ. මං දන්නෙ නෑ.''

මම ඉවත බලාගත්තෙමි. මගේ හිත නරක්වූ බව ඔහුට දැනිණ. ඔහු මා සමීපයට ඇවිත් මගේ අත සෙමින් අල්ලා ගත්තේය.

''අයියෝ ඔකටත් තරහ ගියාද අනේ? මං කොලොප්පමට නෙ එහෙම කිව්වෙ.''

මගේ තරහ නිවී ගියේය. මම කතා කළෙමි.

''නිමල් මේක කොලොප්පමක් නෙමෙයි. මීමැස්සො ඉන්න එකෙං තේරෙන්නෙ මේ කිට්ටුව මීයක් තියෙන විත්තිය. ඒක හොයා ගත්තොත් මීපැණි ටිකක් ගතහැකි. පොල්මලක් මදිනවට වැඩිය ඒක ලේසියි. එතකොට සීනි ඉවර උනත් මාසෙකට හමාරකට බය නැහැ.''

''ඕ! නන්දනගෙ මොලේ තමයි මොලේ! අපි එහෙනං කැලේ ටිකක් හොයල බලමුද?''

''ඔව් හොයල බලමු. ඊයෙ දවසම වැඩ කරල ඇඟටත් අමාරු නෙ.''

මීමැස්සන්ට තමන් යනඑන පාර හොඳින් මතක තිබෙන බව මා අසා ඇත. ඒ නිසා උන් පොල් මලෙන් ආපසු පිටත්ව යනතුරු අපි විමසිල්ලෙන් බලාසිටියෙමු. ටික වේලාවකට පසු එක මීමැස්සෙක් ඉගිල ගියේය. තව ටිකකින් තවකෙක් ඒ දෙසටම ඉගිල ගියේය. දැන් හරි! මීය ඇත්තේ ඒ පැත්තේය.

අපි දෙදෙන කටුඅකුල් බේරාගෙන කැලෑව අස්සෙන් රිංග රිංගා මීය සොයමින් මීමැස්සන් ගිය දෙසට ගමන් කළෙමු. මෙසේ යන අතර මා එක් පැත්තක් බලාගන්නටත් නිමල් අනික් පැත්ත බලාගන්නටත් කතිකා කර ගතිමු.

''නන්දන, මීපැණි හදන ජාතියක්ද, හැදෙන ජාතියක්ද?''

''ඒ දෙකම කියන්න පුළුවං. මීමැස්සියො මල්රොං උරාගත්තම ඒව උංගෙ බඩ ඇතුලෙදි පැණි බවට හැරෙනව. උං ආපහු මීයට ගියාම මීවදේ තියෙන පුංචි කාමරවලට ඒ පැණි වමාරනව. මීයෙ ඉන්න වෙනත් මැස්සියො කොටසක් පියාපත් වලිං පවං ගහල ඒ පැණිවල තෙතමනය වාෂ්ප බවට හරවල ඉවතට යවනව. ටික කලක් යනකොට ඒව හොඳට උකු වෙනව. ඒව තමයි මීපැණි.''

''මීපැණි හුඟක් ගුණ ඇති නේද?'



''එහෙනං? මීපැණි ලේසියෙං දිරවන ආහාරයක්. ශක්තිය නිපදවනව. දියවැඩියා කාරයින්ට සීනි වෙනුවට පාවිච්චි කරන්න පුළුවංලු. බඩ යනවට හොඳ බෙතක්. එතකොට තුවාල වලටත් හොඳ බෙතක්.''

''නන්දන ඔහොම පොඩ්ඩක් ඉන්න. ආන්න අර ලස්සන මල්වැලෙං මලක් කඩාගන්නකල්.''

ඔහු අකුලට ඇදී ගොස් නිල්පාට මල්සහිත වැල් කැබැල්ලක් කඩාගෙන ආවේය.

''ආපෝ ඕකද? ඔය කටරොලු වැලක්නෙ. අනුරාධපුරේ පැත්තෙ ඕනතරං තියෙන්නෙ.''

තවත් පැය කාලක් පමණ ඇවිදින විට මීමැස්සන් එකා දෙන්නා ගැවසෙන පෙදෙසක් අපට හමු විය. මීය වැඩි ඈතක නොවන බව දැන් පැහැදිළිය. අපි එතැන නතරවී වටපිට විපරම් කරමින් සුළු වේලාවක් ගත කළෙමු. මඳක් ඈත කඳ මහත ගසක් දුටු අපි එයට ටික ටික කිට්ටු කළෙමු. අප සිතුවා හරියට හරිය. මීමැස්සන් රාශියක් ඒ අවට ගැවසෙනු අපට පෙනිණ. එම ගසේ බෙනයක මීය ඇති බව දැන් සහතිකය. තවත් කිට්ටුකර බලනවිට මීමැස්සන් පිරි ගස්බෙනය අපට හමුවිය.

''හා දැං ඉතිං තැන මතකයි නේ. අපි ගිහිල්ල සුදනං වෙලා එමු''යි මම ආපසු යන්නට හැරුණෙමි. සුදනම් වී එන්නේ කෙසේදැයි නිමල්ට තේරුණේ නැත.

''නන්දන මෙ ගමම්ම මීය කඩාගෙන යමු. ආයිත් ගිහිල්ල එන්නෙ ඇයි?''

''එහෙම මී කඩන්න බෑ අයියෙ. අපි මේ ආවෙ මීය හොයාගන්න විතරයි. කඩන්න නෙමෙයි. නිකම්ම මී කඩන්න ගියොත් මැස්සංගෙං බේරිල්ලක් නැති වෙයි. උං එලව එලවා අපට අනීවි. මං අහල තියෙනවා මිනිස්සු මී කඩන්න ඉස්සරවෙලා මීයට දුං අල්ලනවලු. එතකොට උං මත් වෙනවලු. ඒත් එකෙක් දෙන්නෙක් හරි අනින්න ඉඩ තියෙන හින්ද අත්දෙකයි මූණයි ඇඟයි හොඳට වහගෙන යන්න ඕනලු.''

අපි ආපසු වාඩියට ගියෙමු. නිමල් තේ වත්කරන අතර මම කමිසය ඇඳගෙන, බෙල්ල සහ මුහුණ වැසෙන පරිදි ඔලුවේ රෙදි කැබැල්ලක් ඔතා ගත්තෙමි. මීය කඩන වේලාවට දෑතේ ඔතා ගැනීමට පරණ තුවා කබල් දෙකක්ද සොයා ගත්තෙමි. මෙසේ කෙතරම් ආරක්ෂක පියවරවල් ගත්තත්, හිතටනම් ටිකක් බයය. මෙ කරන්නට යන්නේ අතිපණ්ඩිත වැඩකි. ඒත් දැන් එය නොකර බැරිය. කමක් නැත. වෙන දෙයක් උනාවේ. මෙහි ආ දින සිට කරන හුඟක් දේවල් මීට කලින් කළ දේවල්යැ? ඒවා කොහොම උනත්, මගේ බිය නිමල්ට ඇහෙන්නට ඉඩ නොතැබිය යුතුය.



තේ බොන අතර, නිමල් ගෙනැවිත් තිබුණු නිල් කටරොලු මල් කිනිත්ත බිත්තියේ එල්ලා තිබෙනු මගේ දෙනෙතට ලක්විය. මට ඒ එක්කම හොඳ අදහසක් පහළවිය.

''නිමල්, දෙහි තියෙනවද?''

''මී කඩන්න දෙහිත් ඕනෙද''යි අසමින් ඔහු ලිපගාවට ගොස් අතපත ගාන්නට විය.

''වේලිච්ච දෙහිගෙඩි දෙකක් තියෙනවා.''

''මී කඩන්න නෙමෙයි. වෙනිං පොඩි වැඩකට. එකක් කපල මිරිකල ගේන්නකො.''

ඔහු කෝප්පයකට දෙහිගෙඩියක් මිරිකා ගොනැවිත් දුන්නේය. මම මලක් කඩා කෝප්පයට දැම්මී.

''අපි එනකොට මේ මල රතුපාට වෙලා තියේවි.''

''නැහ්!''යි ඔහු පුදුමයෙන් කීය.

''නැද්ද කියල බලමුකො ඇවිල්ල''

දුම් ඇල්ලීම සඳහා හට්ටියකට ගිනිඅඟුරු ටිකක් දමාගත් මම පොල්කොහු ටිකකුත් අතට ගතිමි. වැඩේ සාර්ථක වුණොත් පැණි ගෙනඒම සඳහා හට්ටියක් නිමල් අතට දුනිමි. ඔලුව වත් බේරා-ගත යුතුයයි කියන්නාක් මෙන් ඔහු එය ගත් ගමන්ම ඔලුවේ තමාගත්තේය.

අපි ගියෙමු. කලින් ලකුණුකර ගත් මහ ඔස්සේ අපි ගියෙමු. මීය ඇති ගසට කිට්ටු වෙන්ට වෙන්ට, මගේ සිතේ බියසැකද ටිකෙන් ටික නැගී එයි. ගසට යාර හත අටකට මෙහා නිමල්ව නතරකළ මම වීරයකු සේ (එහෙත් පණ බයේ!) තනිවම ඉදිරියට ගියෙමි. ගොස්, තුවාකබල් දෙක දැතේ ඔතාගෙන අඟුරු හට්ටියට පොල්කොහු ටික දමා දුම්ගැස්වීමි. හොඳින් දුම නැගෙනවිට, හට්ටිය ගස් බෙනයට ළංකර, අතින් පවන් ගසා දුම බෙනය ඇතුළට යැවීමි. පර්යේෂණය සාර්ථක වන බවට පෙරනිමිත්තක් මෙන්, මීමැස්සෝ දෙතුන් දෙනා බැගින් බෙනයෙන් පිටවී යන්නට වූහ. පිටව යන සංඛ්‍යාව එන්ට එන්ටම වැඩිවෙයි. එහෙත් උන් වැඩි ඈතක නොගොස් ඒ අසලම අහසේ කැරකි කැරකී සිටීම සිතට බිය ගෙනදෙයි. සුළු වේලාවක් යන විට, මගේ හිසට උඩින් අහසෙහි විශාල මීමැසි රොත්තක් කැරකෙන්නට පටන්ගත්හ. උන්ගේ ගුමු ගුමුව ඉහළ අහසේ ගමන් කරන අහස් යානයක හඬ වැනිය. එයට අමතරව නිමල්ගේ සංගීත මුනුමුනුවද පිටුපසින් ඇසෙයි.

ඩන්න — ඩනේ — ඩන — ඩන්න — ඩනේ
ඩන — ඩන්න — ඩනේ

මීයට අයත් සියලුම මැස්සන් පිටව ගොස් අවසානයයි මට ඒත්තු ගිය පසු, නිමල්ට අතින් සංඥා කොට හට්ටිය ළඟට ගෙන්වා ගත්තෙමි. ඔහු දෙකට නැමී හෙමි හෙමින් හට්ටිය මා අසල තබා අඩියට දෙකට ආපසු හැරී පැන දිවූ හැටි



දුටු මට සිනා නොවී සිටිය නොහැකි විය. මම වෙවුලන අත සෙමෙන් බෙනය තුළට යවා මීවදකැලි ගොඩක් කඩ කඩා හට්ටියට දමා ගත්තෙමි. මේ අතර මගේ බියසැක දෙගුණ තෙගුණ කරමින් උඩ කැරකුණු මීමැස්සෝ මදින් මද පහත් වී මගේ හිස වටා කැරකෙන්නට පටන් ගත්තෝය. හොඳටම බියපත්වූ මම මීය කැඩීම එතනින් නවත්වා හට්ටියත් රැගෙන නැමී පස්සෙන් පස්සට මඳක් ගමන් කොට නිමල්ට එකතුවීමි. සතුරු හමුදවක් මෙල්ල කොට එන වීර සෙබළුන් දෙදෙනකු මෙන් අප දෙදෙන ජයග්‍රාහී ලීලාවෙන් ආපසු වාඩියට පැමිණියේ මීවද කැලි ටිකකුත් හප හපා ය.

වාඩියට පැමිණි විගසම නිමල් ගියේ කටරොළු මල දැමූ කෝප්පය බලන්නටය.

''ආයිස් අප්පඩා! නන්දනගේ වැඩේ හරිගිහිල්ලා!'' ඔහු කෑගැසීය. ඉක්බිති රතුපාට වී තිබුණු මල මට ගෙනැවිත් පෙන්වීය. ඒ ගැන පසුව කතා කරන්නට තබා, දෙදෙනම එකතුවී මීවද කැලි ටික මිරිකා බෝතල තුනක්ම පිරවීමු. ඉතිරිවූ රොඩු ටික බෙදගෙන කෑවෙමු. දැන් ඉතින් සීනි ගැන මගේ සිතේ තිබුණු බිය පහව ගොස්ය. ලෝක වෙළඳ පොළේ සීනි මිළ කොතරම් ඉහළ ගියත් අපට කමක් නැත.

ඒළඟට මල දැමූ කෝප්පය අතටගත් නිමල් මීවද ගුලියකුත් විකා විකාම බූරු ඇඳේ වාඩිවිය.

''දැං කියන්නකො නන්දන කොහොමද මේ මල රතුපාට උනේ?''

''ඕක සුළු දෙයක් ඇඹුල් ජාතියකට නිල්පාට මලක් දැම්මම රතුපාට වෙනව ''

''ඕනම ඇඹුල් ජාතියකට ?''

''ඔව්. ඕනම ඇඹුල් ජාතියකට. දෙඩං — නාරං — බිලිං — ගොරක — විනාකිරි — මෙ ඕනැම අඹුල්ජාතියකට නිල්පාට මලක් දැම්මම රතුපාට වෙනව.''

''එතකොට රතුපාට මලක් නිල්පාට කරන්නත් පුළුවන්ද?''

''පුළුවං හුණු දියකරපු වතුරට රතුමලක් දල බලන්න. නිල්පාට වේවි.''

''ෂාහ්! හුණුටිකක් නැතෙ ඒක කරල බලන්න''

''හුණු විතරක් නෙමෙයි. රෙදි සෝදන සෝඩා—බිත්තර සුදුමදේ—මිල්ක් ඔජ් මැග්නීසියා ඔය වාගෙ තව කොච්චර ජාති තියෙනවද.''

''නන්දන කොහොමද මුවර්එකටම දන්නෙ?''

''අපෝ ඔව ඉස්කෝලෙදී අපි කරපු දේවල් නෙ. ඒක නෙමෙයි නිමල්. අපි ඉක්මනට උයාගෙන කාල අදම කාමරේ පදිංචියට යමු.''

දවල් කෑමෙන් පසු වාඩියේ තිබුණු බඩුවලින් අපට අවශ්‍ය ඒවා අළුත්පාර දිගේ කාමරයට අදින්නට පටන් ගත්තෙමු. බූරුඇඳ, හට්ටි වලන්, හිරමණය, හාල්තුනපහ, පිහන්කෝප්ප ආදී දේවල් ගමන් හතඅටකදී අප දෙදෙනාගේ කරපිටින් මුදලාලිගේ කාමරයට ගියේය.



අළුත් නිවසේ පදිංචි වීමෙන් පසු අපගේ ප්‍රථම කාර්යය වූයේ පුරාණ චාරිත්‍රානුකූලව අපට පුළුවන් හැටියට කිරි ඉතිරවීමයි. එය කළේ, පොල්බෑයක කිරි කුඩා වළඳකට දමා ලිප තබා උණුකිරීමෙනි. වැඩියෙන් කිරි උතුරා යනු පිණිස වළඳ පිරෙනතුරු වතුර වත්කළෙමු. සුළු වේලාවකින් වළඳ වටේටම පොල්කිරි උතුරා ගියා පමණක් නොව, ලිපේ ගින්දර ටිකද නිවී ගියේය.

මෙසේ සාර්ථක ලෙස කිරි ඉතිරවීමෙන් පසු, ගුවන්විදුලි යන්ත්‍රය ක්‍රියාකරවා තබා, අප ගෙනා බඩුමුට්ටු අස්පස් කිරීම ආරම්භ කළෙමු. මුදලාලිගේ ඇඳට යාව බූරුඇඳ තබා, පිහන්-කෝප්ප මේසය උඩද, විදුලිපන්දම කොට්ටය යටද, හාල්තුනපහ එක් මුල්ලකද, පැට්‍රෝමැක්ස් ලාම්පුව ඇඳ යටද, හට්ටිවලන් පිටුපස පිළේද තැන්පත් කළෙමු. මේ සියල්ල අවසානයේ තේවතුර උණුකර ගෙන බීවෙමු. දැන් අපි අළුත් ගෙදරකය! ගෘහමූලිකයා නන්දන නමැති මම ය!

අළුත් ගෘහයේ පදිංචිවීම පිළිබඳ ප්‍රීතිය භුක්ති-විඳිමින් සිටින අතර, නිමල් අළුත් යෝජනාවක්ද කළේය. එනම්, මෙම වැදගත් අවස්ථාවේ මොනවා හරි රසකැවිලි වර්ගයක් හදගෙන අනුභව කළයුතු බවයි.

''මොනවද ඉතිං හදන්නෙ?''යි මම ප්‍රශ්න කළෙමි.

''කැවුං — කොකිස් — අළුවා — මුංගුලි — අතිරස — කේක් — පුඩිං — අග්ගලා — පැටිස් — කිරිටොෆි— .........'' යි ඔහු රසකැවිලි ලැයිස්තුවක් කියාගෙන කියාගෙන ගියේය. මම හරස් කැපුවෙමි.

''හෝව්! හෝව්! ඇති ඇති! නම් ලැයිස්තුවෙං වැඩක් නෑ. අපිට හදන්න පුළුවං ජාතියක් කියන්න.''

''එහෙනං නන්දනට ඕන දෙයක් හදන්න''

''මං කියන්නද නිමල්. අපි මෙහෙම කරමු. පිටි ටිකක් අරගෙන පොල්ටිකක් ගාල දල අහල මීපැණින් කලවං කරල තම්බමු.''

''ඉතිං ඒ මොනවද?''

''මොනවද මං දන්නෙත් නෑ. මොනව උනහම මොකද? තම්බල කමු.''

''කමු! කමු! මං එහෙනං පොල්ගාන්නං.''

අපි එකී ජාතියෙන් හතරක් තම්බා ගතිමු. මුලින්ම තැම්බූ එක බැහැටියේම දෙකට කඩාගෙන හායි හුයි ගාමින් වහ වහා කැවෙමු. එය අපි හිතුවාටත් වඩා රසය. දෙවැනි එකත් එසේම පිච්චි පිච්චි කැවෙමු. එහෙත් තුන්වැනි එක කැවේ ටිකක් අමාරුවෙනි. හතරවැනි එක කාලා ඉවර කරන්නට බැරිවිය. එසේ වූයේ රසේ අඩුවක් නිසා නොව, බඩේ ඉඩ අඩුවූ බැවිනි.



තවදුරටත් බඩු අස්කරද්දී මුදලාලිගේ කැමරාව නිමල්ගේ නෙතට ලක්විය. ඔහු එය අතටගෙන යෝජනාවකුත් ඉදිරිපත් කළේය.

''නන්දන මහත්මයාණනි, අපේ ගෙට ගෙවදීමේ උත්සවය ජායාරූප ගතකර තිබුණොත් කෙතරම් අගනේද?''

''එසේය, එය අතිශයින්ම කාලෝචිත අදහසකි. ආපසු ගෙදර ගිය දිනයක අපගේ ඥතිවර්ගයාටද ප්‍රදර්ශනය කිරීමට පුළුවන.''යි මම පිළිතුරු දුනිමි. ඉක්බිති අපි අපේ අළුත් ගෙය වටා ගොස් හතර පැත්තෙන් පින්තූර හතරක් ගත්තෙමු. ඊට අමතරව, නිමල් පිලේ තේ උණුකරන ආකාරය දක්වන පින්තූරයක්ද ගතිමි. ඔහුගේ ඉල්ලීම උඩ, මා කාමරය ඉදිරියේ සිටගෙන සිටින පින්තූරයක් ඔහු ලවා ගත්තෙමි. ඊලඟට ඔහු නවත් යෝජනාවක් කළේය.

''අපි අද වෙන මොකවත් නොකර පින්තූරම ගමු. අද හොඳ දවසක් නෙ?''

එයට එකඟවූ මම, සේයාපටි රෝලෙන් තව පින්තූර කීයක් ගතහැකි දැයි බැලීමි. කොටස් විසිහතරක රෝලක් වූ එහි පින්තූර නවයක් අරගෙන තිබුණු හෙයින් තව පහළොහක් ඉතිරිව තිබුණු බව පෙනිණ. අපි කැමරාව ගෙන විනෝද සංචාරය සඳහා පිටත්වීමු.

පළමුවෙන්ම අළුත්පාරේ පින්තූරයක් ගත් අපි ඊලඟට වාඩියට ගොස් වාඩිය, ලිඳ හා එළවලු පාත්තියද කැමරාගත කළෙමු. ඉක්බිති වෙරළ

දිගේ ගමන් කරමින් අතරමඟදී හමුවුණු වතුරෙන් වටවූ ගල්පරයකට නිමල් නංවා ඔහුගේ පින්තූරයක් ගතිමි. ඒ අතරද ඔහුට මතක් වූයේ මාළුබෑමය. ''මාළුබාන්න කියාපු තැන''යයි ගල්පරයෙන් බසිද්දී ඔහුගේ මුවින් පිටවූයේ එහෙයිනි.

තවත් ටිකදුරක් ඉදිරියට ගොස් මාළුඔරුවල පින්තූර කීපයක්ද ගත් අපි පරණ රවුම්පාර දිගේ ආපසු කාමරයට පැමිණියෙමු.

පසුද උදේ තේබොන අතර පෝරවල ගැන සාකච්ඡාව යළිත් මතුවිය. මුලදී යෝජනා කර තිබුණේ එය වාඩිය අසල කැපීමටය. නමුත් ගෙයින් අහක දමන කුණුරොඩු ආදියත් දැමීමට හැකි වන පරිදි එය කාමරය අසලින් කැපීමට පසුව තීරණය කළෙමු. කාමරය පිටුපස පිල අද්දර එය කැපීම වඩාත් සුදුසු බව අපට පෙනිණ. හට්ටි වළන් ආදිය සෝදන වතුරත් එයට විසිකිරීම එවිට පහසුය.

තේ පානයෙන් පසු පෝරවල කැපීමේ අපේ දෙවැනි මහා ශ්‍රමදාන ව්‍යාපාරය ආරම්භ කළෙමු. අපි දෙදෙන පළමුවෙන්ම වල ලකුණු කොට මාරුවෙන් මාරුවට උදැල්ලෙන් පස් කපා ඉවත් කළෙමු. දවල් දහය පමණ වන විට ප්‍රමාණවත් වලක් කපාගැනීමට පුළුවන් විය. එය සෑහේ-යයි දෙදෙන ම එකඟත්වයකට පැමිණීමෙන් පසු වැඩේ එතනින් නතර කරනු ලැබිණ. ඒ හා සමගම, වලේ ගැඹුර බැලීමටයයි කියමින් නිමල්



වලට පැන කෙළින් සිටගත්තේය. ඔහුගේ ඉඟටිය තෙක් එය ගැඹුරු විය. අත්දෙක ඉවුරු මත තබා මඳක් ඉස්සී ශරීරය එහාට මෙහාට පැද්දවූ හෙතෙම වලෙන් ගොඩට පැන්නේය.

පෝරවල කැපීමෙන් පසු අළුත්පාර දිගේ පරණ වාඩියට ගිය අපි කරවල රොඩු ගෝනියක් හා අළු ගෝනි බාගයක්ද ගෙනැවිත් වලේ දමා කලවම් කළෙමු. ඊළඟට කැලෑරොඩෙන් කොළ ගෝනි දෙකක්ද ගෙනැවිත් ඊට උඩින් දැමීමු. විටින් විට කුස්සියෙන් අහක දමන කුණුරොඩුත් එකතු වන විට ක්‍රමයෙන් පෝරවල පිරිගොස්, අපේ වගා ව්‍යාපාරයට අවශ්‍ය කොම්පෝස්ට් පෝර සැපයුම ඉල්ලුමද ඉක්මවනු ඇතැයි අපි බලාපොරොත්තු වීමු.

එදින සවස් කාලයේ නිමල්ගේ බලවත් පෙරැත්තය නිසා නැවතත් මාළුබාන්නට ගියෙමු. අප මෙවර ගියේ කලින් දින නිමල් නංවා ඡායාරූපයක් ගත් ගල්පරය වෙතටය. දණහිස දක්වා වතුරේ ඇවිද ගෙන ගොස් ගල්පරයට ගොඩවී වාඩි වුණෙමු. නිමල් බිලි-කටුවේ පොල්කැල්ලක් අමුණා බිලිපිත්ත වතුරට දාගෙන නිසොල්මන් විය.

''මාළුබාන්න විතරක් නෙමෙයි, හවසට ඇවිල්ල වාඩිවෙලා විනෝද වෙන්නත් කියාපු තැන''යි වටපිට බලන අතර මට කියවිණ.

''එහෙම එනවනං නිකම්ම ඇවිල්ල මදි. මොනව හරි කන්න දේකුත් හදගෙන එන්න ඕන''යි නිමල්ටද කියවිණ.

''මොනවද හදගෙන එන්නෙ?''

''ඇයි නන්දන ඊයෙ හැදුව ජාතිය?''

''එව්ව හැමදම කන්න පුළුවන්ද?''

''එහෙනං වෙනිං ජාතියක් හදමු''

''මොනවද ඉතිං ඒ වෙනිං ජාතිය?''

ඔහු මඳක් කල්පනා කළේය.

''පාංපිටියි පොල්කිරියි මිපැණියි එකටදල අනල ගුලි කරල පොල් තෙලෙං බැ-ද-ල-...ෂ්--ෂ්''

ඔහු කතාව නතර කොට බිලිපිත්ත ගස්සා වැරෙන් ඇද්දේය. එහෙත් මාළුවකු තබා පොල් කැල්ලවත් බිලීකටුවේ නොතිබිණ.

''අ-ප-රා-දේ''යි කියමින් ඔහු මුහුණ ඇඹුල්කර ගත්තේය.

''මංදනගන්නා ඔහොම වේය කියල පොල්-කැල්ල අමුනන කොටම''යි මම කීමි.

''එහෙනං මෙන්න අමුනන්නකො පන්ඩිතය''

මම බලවත් අකැමැත්තෙන් බිලීකටුව හොඳින් වැසෙන පරිදි පොල්කැල්ලක් අමුණා දුන්නෙමි. ඔහු මෙවර බිලිපිත්ත වෙනත් පැත්තකට ද-ගත්තේය.

''හැබැයි ඔන්න එකයි බාන්නෙ. මට බෑ ඔය පව්කාර වැඩවලට තවත් සම්මාදං වෙන්න.''

''මොනවද නන්දන පව් කියන්නෙ? මාළු ඉන්නෙ අපට කන්න නේද?''



''එහෙනං මීට පස්සෙ රට පන්සිල් ගන්න කොට පාණාතිපාතා වේරමණී කියන සිල්පදේ කියන්න එපා. මෝඩය! පව් කියල ජාතියක් ඇතත් නැතත් අපි තවත් සතකුගෙ ජීවිතේ උදුරගන්න එක විසාල වරදක්. හැම සතකුටම ජීවත්වෙන්න අයිතියක් තියෙනව. කාගෙවත් ජීවිතයක් තවත් . . . .''

''ඔන්න කෑවා!''යි කියමින් හෙතෙම බිලිපිත්ත පටස් ගා ඇද්දේය. ''බලයෙක්! හෙන බල-යෙක්! සුමානෙකට ඇති!''

පණබයේ දඟලන අහිංසක සතා ගලඋඩ තබා දෙපයින්ම තදකර ගත් ඔහු උගේ කට අරවා බිලිකටුව ගලවන්නට ලොකු වෑයමක් කරයි. මම නැගිට්ටෙමි.

''නිමල් කියන ප්‍රාණඝාතකාරයා තව පොඩ්ඩ-කිං මම මෙතනිං එක්කං යනවා. උඹලා පණ බේරාගෙන ඕන්න බඩ පුරවා ගනිල්ලා''යි කියමින් මම ඉතිරි පොල්කැලි ටික පොල්කටුව පිටින්ම මුහුදේ ඈතට වීසි කළෙමි. ඒ දුටු මඳක් කලකිරීමට පත් ඔහු කිසිවක් නොකියා බිලිපිත්ත අකුලාගෙන මාළුවාත් එල්ලා ගෙන නැගිට්ටේය. දූන්ම ආපහු ගියොත් එද මෙන් අදත් මොහු පණපිටින්ම මාළුවා කපන හැටි බලාසිටින්නට සිදුවන නිසා ඌ මැරෙනතුරු ටිකක් ප්‍රමාදවීම හොඳයයි මට කල්පනා විය. ඒ නිසා මම යළිත් වාඩිවීමි. නිමල් ආපසු යන්නට හැරී මට කතා කළේය.

''ඇයි යන්නෙ නැද්ද?''

''දැන්ම ගිහිල්ල මොකටද? වැඩක් කරන්නත් වෙලාවක් නැහැනේ. පාත්තියට වතුර දන එකයි මාළුවා කපල උයන එකයි විතරයි නේ තියෙන්නෙ? තව ටිකක් ඉඳල යමු.''

ඔහු නැවතත් ගල්පරය මත වාඩිවිය.

''නන්දන හැම දේම දන්න එක්කෙනා මොනවද මේ මූද ගැන කියන්න පුළුවං?''

''අප්පේ මූදගැන කියන්න කොච්චර දේවල් තියෙනවද?''

''හොඳයි ඉතිං එකක් දෙකක් කියන්නකො''

''මූදෙ තියෙන වතුර වාෂ්පවෙලා ගිහිල්ල වළාකුළු හැදිල අපට වැස්ස ලබාදෙන විත්තිය දන්නව නේද?''

''ඒක ඉතිං කවුරුත් දන්න එකක් නෙ''

''එතකොට මූදෙං ලැබෙන මාළු?''

''ඒකත් ඉතිං කවුරුත් දන්න එකක් නෙ''

''එතකොට ලුණු?''

''ලුණු හම්බවෙන්නෙ මූදෙන්යැ?''

''නැත්තං? මූදුවතුර වාෂ්ප කරල යැව්වම ඉතුරුවෙන්නෙ ලුණු''

ඔහු මඳක් කෙළින් වී මා දෙස පුදුමයෙන් මෙන් බලයි.



''ලුණු ලබාගන්න ඔච්චර ලේසිද? එතකොට ලුණුලේවා වල කරන්නෙත් ඕකද?''

''ඕක තමයි. ලුණුලේවාය වල කරන්නෙ මූදු වතුර ලියදිවලට යවල වාෂ්ප වෙන්න අරින එකයි. වතුර වාෂ්පවෙලා ගියාම ලුණු ඉතුරු වෙනව. ඒව ලොරිවලිං එක එක පළාත්වලට යවනව.''

''ඉතිං ඕක ඔච්චර ලේසි වැඩක්නං අපටත් බැරියැ මූදුවතුර ටිකක් අරගෙන ලුණු හදන්න?''

''ආ මොකද බැරි? දැං යනකොට අරං යමුකො මූදුවතුර ටිකක් හෙට ලුණු හදන්න. කෝ අර පොල්කට්ට?''

පොල්කටුව යාර හතඅටක් ඈතින් මුහුදේ පාවෙමින් තිබිණ. නිමල් නැගිට බිලිපිත්තේ ළණුව දිගඇර ගස්සා බිලිකටුව පොල්කටුවේ ඇමිණෙන පරිදි කීප වරක් වීසිකළේය. තුන්වැනි වර බිලිකටුව හරියටම පොල්කටුවේ ගැටටෙ ඇමිනුණි. ඉක්බිති ඔහු ළණුව හෙමින් හෙමින් ඇද පොල්කටුව අතට ගත්තේ ''කොහොමද මෝඩයගෙ දස්කම?''යි කියන්නාක් මෙන් මහත් උජාරුවකිනි. ඔහු පොල්කටුව ගත් ගමන්ම වතුර පුරවන්නට සූදානම් විය.

''ඕක ටිකක් තියාගන්න යනකොට ගෙනියන්න. අපි මූද ගැන කතාකරල ඉවර නෑ නෙ. මූදු වතුරෙන් ලුණු ලබාගන්නව වගේම ඒ ලුණුවලිනුත් තව නොයෙක් දේවල් ලබා

ගන්නව. ලුණුවතුර විද්‍යුත් විච්ඡේදනය කළාම — ඒ කියන්නෙ ලුණුවතුර අතරිං විදුලිය යැව්වාම — ක්ලෝරීන් කියන වායුවයි — හයි-ඩ්‍රජන් කියන වායුවයි — එතකොට කෝස්ටික් සෝඩයි ලබාගන්න පුළුවං.''

''ඒවා මොනවටද?''

''ඒවායින් කොච්චර ප්‍රයෝජන තියෙනවද? හයිඩ්‍රජන් කියන්නෙ බර අඩු වායුවක්. ඒ නිසා හයිඩ්‍රජන් පුරවල බැලුන් උඩ යවන්න පුළුවං''

''අපිත් හයිඩ්‍රජන් පුරවල බැලුමක් උඩ යවමුකො''

''ඒකට කෝ බැලුනයක්? ගමට ගිය දවසක බැලුනයක් හොයාගෙන ඒක කරමු. ඊළඟට, හයිඩ්‍රජන් වායුව ඉක්මනට ගිනිගන්න නිසා ලෝහ පාස්සන්න ගන්නව. හයිඩ්‍රජන් වායුව, තව ගන්නව තෙල්ජාති ගන බවට පත් කරන්න. මාජරින් හදන්නෙ හයිඩ්‍රජන් වායුවෙං පොල්-තෙල් ගන බවට පත්කරල.''

''මොනව? එහෙනං මාජරින් කියල අපි කන්නෙ පොල්තෙල්ද?''

''පොල්තෙල් තමයි. ලුණුවතුරෙං ලබාගන්න අනික් වායුව ක්ලෝරීන් කිව්ව මතක නේද? ඒ ක්ලෝරීන් වලින් ගන්න එක වැඩක් තමයි බොන ජලය පිරිසිදු කිරීම. නගර වලට ජලය සපයන්නෙ ක්ලෝරීන් දාල. එතකොට වතුරෙ තියෙන විෂබීජ නැතිවෙනව.''



''එතකොට කෝස්ටික් සෝඩ?''

''කෝස්ටික් සෝඩා වලිං කරන එක වැඩක් තමයි සබන් හැදීම. පොල්තෙලුයි කෝස්ටික් සෝඩයි එකට දල තදින් රත් කළාම සබන් හැදෙනව''

''නෑ!''

''නැත්තෙ නෑ. අපි හදල තියෙනවා නෙ. ගෙදර ගියාම ඔයත් හදල බලන්නකො''

නිමල් බිලිපිත්තත් මාළුවාත් අතටගෙන නැගිට්ටේය.

''දැං යමු නන්දන. මාළුව උයන්න පරක්කු වෙනව''

පොල්කටුවට මුදුවතුරත් පුරවාගෙන අපි පිටත්වීමු. යන ගමන් පරණ වාඩිය පැත්තෙන් ගොස් එළවලු පාත්තියට වතුරත් දමා කාමරයට ගොස් මාළුවාත් උයාගෙන බඩ පිරෙනකල් බත් කෑවෙමු.

පසුදින මට ඇහැරෙන විට හොඳටම දවල්වී තිබිණ. නිමල් කලින් නැගිට තේ උණුකර රොටිත් පුච්චා තිබුණ නමුත් ඔහු පෙනෙන්නට නොසිටියේය. ඔහු පුරුදු පරිදි වැල්ලට යන්නට ඇතැයි මම සිතුවෙමි. මට ඇස් අරින්නට අමාරු ගතියක් දැනෙන්නට විය. දොට්ට යනවිට දැවිල්ලකුත් ඇතිවිය. මේ වෙනසට හේතුව, කලින් දින රෑ බලමාළු කුට්ටි හතඅටක් කෑම වන්නට ඇත. ජීවිතේටම මා වැඩියෙන් මාළු

කැවේ එදාය. කුරුම්බාවක් කඩාගෙන බොන්-නට මා සූදනම් වන විටම වැල්ල පැත්තෙ සිට සින්දුවක් ගායනා කරමින් නිමල් පැමිණියේය. ඔහුට නම් මට මෙන් අමුත්තක් නැත. ඔහු මාළුබැමට මෙන්ම මාළු කෑමටත් රුසියෙකි!

''අර වැඩේ කරමුද''යි රොටිකෑල්ලක් විකමින් ඔහු ඇසිය.

''මොන වැඩේද?''

''අර ලුණු හදනවයි කිව්වෙ?''

''හා කරමු''

තේ බීමෙන් පසු කරදිය පොල්කටුව පිහානකට හළා හොඳට අව්ව වැටෙන පරිදි මිදුලේ තැබූ මම නිමල් දෙසට හැරුණෙමි.

''ඔච්චර තමයි වැඩේ. සූර්ය රශ්මිය ඉතිරි හරිය කරාවි''

''ඇයි නන්දන, ලුණුවතුර ටික පිහානකට නොදා පොල්කට්ට පිටින්ම තිබ්බත ලේසියි නෙ?''

''ලේසි උනාට වැඩේ පරක්කුයි. පොල්-කටුවෙ තිබුනම වාෂ්ප වෙන්නෙ හෙමිං. පිහානෙ තිබ්බම ඉක්මනට වාෂ්ප වෙනව. ඒ මොකද දන්නවද?''

''දන්නව. පිහාන සුදුපාට හින්ද''



''ඔලුගෙඩිය! පොල්කට්ටෙ තිබ්බම ඉරුඑළිය එක්ක කෙළින්ම ගැටෙන වතුර ප්‍රමාණය ටිකයි. පිහානෙ තිබ්බහම ඉරුඑළියත් එක්ක කෙළින්ම ගැටෙන වතුර ප්‍රමාණය වැඩියි. ඒ නිසා වාෂ්පවීම ඉක්මන්.''

වතුර පිහාන අව්වෙ තැබීමෙන් පසු කරන්නට සුදුසු වෙනත් වැඩක් නොතිබි හෙයින්, මේ වැඩෙත් සමගම ලුණුවතුර විද්‍යුත් විච්ඡේදනය කර ක්ලෝරීන් හා හයිඩ්‍රජන් වායු නිකුත්වන ආකාරය නිමල්ට පෙන්විය යුතුයයි මට සිතුණි. ඒ බව පැවසීමත් සමගම ඔහුගේ කුතුහලය හා උනන්දුව අංශක කීපයකින් ඉහළ නැංගේය. ''පරණ බැටරි කෑලි දෙකක් සොයාගෙන එන්නට පුළුවන්ද''යි මා අසනවාත් සමගම, ''පුළුවං පුළුවං පුළුවං''යයි කියමින් ඔහු විදුලි වේගයෙන් පරණ වාඩිය පැත්තට අන්තර්ධාන විය. ඒ අතර මම මුදලාලිගෙ අළුත් බැටරිකෑලි තුනක් ගෙන එකක් පිටුපස අනික යන පිළිවෙලට තබා බැඳ-ගත්තෙමි. ඊලඟට වයර්කෑලි දෙකක් ගෙන, එකක් බැටරි පොල්ලේ මුල කොනටද අනික අග කොනටද තබා බැඳ, වයර් කෑලි දෙකේ නිදහස් කොන් දෙක එකට හප්පා බැලුවෙමි. ''පටස්'' යන ශබ්දය නගමින් එතනින් ගිනි පුළිඟුවක් පිටවිය. මේ ටික කර අවසන් වන විට නිමල්ගේ සංගීත රාවය ඇසෙන්නට විය.

''තත් තත් තත් තාර පැටිය

තාත්ත ගෙනා තෝර පැටිය...........''

ඊලඟ මොහොතේ දිරාගිය බැටරි කැලි ගොඩක් අතැතිව ඔහු මා ඉදිරියේ පෙනී සිටියේය.

''මෙන්න දේවයන් වහන්ස!''

මම ඒවායින් දෙකක් ගෙන පොඩිකර කාබන් කූරු දෙක ගලවා ගත්තෙමි. ඉක්බිති ඒ දෙක ශුද්ධකර අර නිදහස් වයර් කොන් දෙකේ ගැටගැසුවෙමි. මේ අතර මගේ නියෝගය පරිදි නිමල් ලුණු ටිකක් වතුර සමඟ පිහානකට දියකර ගෙනාවේය. පාඨපොතේ ප්‍රථම වරට පැවැත්වෙන විද්‍යුත් විච්ඡේදනය නමැති මහා විද්‍යා පරීක්ෂණයට දැන් සියල්ල සූදානමය.

නිමල් ඇණතියාගෙන මා කරන්නට යන්නේ කුමක්දැයි නොඉවසිල්ලෙන් බලා සිටී. මම කාබන් කූරු දෙක අත් දෙකට ගෙන ලුණුවතුර පිහානේ දමා කෙළින් අතට අල්ලාගෙන සිටියෙමි.

''නිමල් දැං මේ කාබන් කූර ළඟට නැහැය කිට්ටු කර බලන්න.''

ඔහු නැහැය කිට්ටුකර ඉවකර බලා, ''ආපෝ ගඳයි ගඳයි ගඳයි''කියමින් පසෙකට හැරුණි.

''ඒ ක්ලෝරින් වායුව. ඒකයි ගඳ, අනික් කාබන්කූර ළඟින් පිටවෙන්නෙ හයිඩ්‍රජන් වායුව. ඒක ඉව කරල දැනගන්න බැහැ. අර වගේ ගඳ නැහැ.''



''එහෙනං කොහොමද දැනගන්නෙ හයිඩ්‍රජන් පිටවෙන විත්තිය ?''

''හයිඩ්‍රජන් ඉක්මනින් ගිනිගන්න වායුවක් නේ. අපි බලමු ඒ කාබන්කූර ළඟ ගිනිගන්නවද කියල. ගිනි ගත්තොත් හයිඩ්‍රජන් පිටවෙන බව ඔප්පු-වෙනව නෙ.''

මම නිමල් ලවා පොල්කටුවක් හා වියලි ඉරටුවක් ගෙන්වා ගත්තෙමි. එක අතකින් පොල් කටුව මුනින් නමා, කාබන්කූර වැසෙන සේ අල්ලාගෙන සිටින්නටත්, අනිත් අතින් ඉරටුවේ කෙළවරක් ගිනි දල්වා පොල්කටුව ඇතුළට සෙමින් ඇතුල් කරන්නටත් ඔහුට කීවෙමි. ඔහු එසේ කරත්ම, ඉරටුවේ ගින්දර ඇති කෙළවරින් ''පොප්'' ශබ්දය නගමින් ලොකු ගිනිදැල්ලක් මතුවී මොහොතකින් නිවී ගියේය. දෙතුන්වරක්ම එය කිරීමෙන් පසු, එම කාබන්කූර ළඟින් හයිඩ්‍රජන් වායුව පිටවෙන බව ඔහුට වැටහිණ.

''හයිඩ්‍රජන් වායුව පූරවල බැලූනයක් උඩ යවන්න පුළුවන්ය කියල නන්දන කිව්ව නේද? ඉතිං කොහොමද මේ කාබන්කූර ළඟින් හයිඩ්‍රජන් වායුව බැලූං එකට පූරවන්නෙ ?''

''වායුවක් එහෙම එකතු කරගන්න බැහැ. ඒකට හයිඩ්‍රජන් වායුව වෙනින් විදියකට හද ගන්න ඕන. ලෝහ කැල්ලක් අම්ලයකට දැම්මමත් හයිඩ්‍රජන් පිටවෙනව. නිමල් ගෙදර ගිය දවසක මෙහෙම කරන්න. කාර් බැටරියකිං

බැටරි ඇසිඩ් ටිකක් අරගෙන බෝතලේකට දාන්න. තුත්තනාගං කැලි ටිකකුත් ඒ බෝතලේටම දන්න. බැලූනයක් හොයාගෙන බෝතලේකටේ හයි කරන්න. ටික වේලාවක් යනකොට බෝතලේට හයිඩ්‍රජන් වායුව එකතු වේවි. බැලූනය හොඳට පිම්බුනාට පස්සෙ ගලවල කට බැඳල අත අරින්න. අගේට පාවෙලා යාවි. ඕනෙනං බැලූනයේ ලේබලයකුත් එල්ලන්න 'නිමල්ගේ වැඩක්' කියල.''

''නෑ එහෙම නෙමෙයි. කරෝල මුදලාලියට බැනල ලියුමක් ලියල එල්ලන්න ඕන''

මා පරීක්ෂණය අවසානයේ කාබන්කූරු ගලවද්දී, නිදහස් වයර් කොන්දෙක අහම්බෙන් එකට ගැටී ''ක්‍රිස්'' ශබ්දය නගමින් ගිනි පුලිඟුවක් පිටවිය. නිමල්ට එය නැවතත් බලාගන්නට අවශ්‍ය වූයෙන්, කීපවරක් එය කර පෙන්වූයෙමි. එසේ ගිනි පුලිඟුවක් සෑදෙන්නේ ඇයිදැයි දැනගන්නට ඔහුට ඕනෑ විය. මම එය මා දන්නා හැටියට පැහැදිලිකර දෙන්නට වෑයම් කළෙමි.

''මේ වයර් එකේ තියෙන්නෙ ධන විද්‍යුතය. අර වයර් එකේ තියෙන්නෙ සෘණ විද්‍යුතය. මේ වයර් කොන්දෙක එකිනෙකට කිට්ටු වෙන කොට එකකින් අනිකට විද්‍යුතය පනිනව. එතකොට පුලිඟුවක් ඇති වෙනව.''

නිමල්ට එය හරිහැටි වැටහුණේ නැතිබව ඔහුගේ ව්‍යාකූල මුහුණෙන් පෙනිණ.



''ධන විද්‍යුතය තියෙන වස්තුවකට සෘණ විද්‍යුතය තියෙන වස්තුවක් ළං වුණාම අර පළමු වස්තුවෙන් දෙවැනි වස්තුවට විද්‍යුතය පනිනව. එතකොට ගින්දර පෙනෙනව. මේ බලන්න ආයෙමත් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස්.........''

''කෝ බලන්න මටත් දෙන්න''යයි කියමින් ඔහුත් වයර් කොන්දෙක දැතට ගෙන එකට හප්පාගෙන හප්පාගෙන ගියේය. ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස් ක්‍රිස්. ඔහුට දැන් එය මඳක් වැටහෙන බව මට පෙනෙයි.

''නිමල් දැකල තියෙනවද විදුලි කොටනව?''

''අපෝ ඕනතරං''

''විදුලි කොටනවයි කියන්නෙත් මේ වගේම වැඩකට''

''ඒ කිව්වෙ?''

''ධන විද්‍යුතය තියෙන වළාකුලකට සෘණ විද්‍යුතය තියෙන වළාකුළක් කිට්ටුවෙන කොට, අර මුල් වළාකුලෙන් දෙවැනි වළාකුලට විද්‍යුතය පනිනව. එතකොට විසාල පුලිඟුවක් ඇති වෙනව. ඒකට තමයි විදුලිය කොටනවයි කියන්නෙ.''

ඔහු දෑස කුඩාකොට සුළු වේලාවක් කල්පනාකාරීව බලා සිටියේය.

''වළාකුලුවලට කොයින්ද විද්‍යුතය?''

''වලාකුළු වාතය අතරින් ගමන් කරන කොට වාතයේ ඇතිල්ලීම නිසා විද්‍යුතය හැදෙනව. ඒකට කියන්නෙ විද්‍යුතය ආරෝපණය වෙනව කියල.''

නිමල්ට එය අරිටත් වඩා ලොකු ප්‍රහේලිකාවක් වූ බව ඔහුගේ නොසන්සුන් බැල්මෙන් පෙනිණ.

''ද්‍රව්‍යයක් තවත් ද්‍රව්‍යයක් සමඟ ඇතිල්ලීම නිසා විද්‍යුතය හටගන්නව. ඒක ඇත්තද කියල ඔන්න බලාගන්න''යි කියා මම මේසය උඩ තිබුණු පනාව අතට ගෙන ටික වේලාවක් හිස පීරමින් සිට සැණෙකින් බිම තිබුණු කුඩා කඩදාසි කැබෙල්ලකට කිට්ටු කළෙමි. කඩදාසි කෑල්ල පනාවට ඇදී ආවේ ඔහුගේ මුහුණට සිනාවක්ද නංවමිනි. ඔහුද කීපවිටක්ම එසේ කර එහි සත්‍යතාවය වටහා ගත්තේය.

''හිසකෙස් සමඟ ඇතිල්ලීම නිසා පනාවට විද්‍යුතය ආරෝපණය වුණා වගේම තමයි වාතය සමඟ ඇතිල්ලීමෙන් වලාකුළු වලටත් විද්‍යුතය ආරෝපණය වෙන්නෙ. තේරෙනවද?''

''තරහ වෙන්න එපා නන්දන, මට පොඩි ප්‍රශ්නයක් තියෙනවා. පනාව ඇතිල්ලුවෙ හිස-කෙස්වල. වලාකුළු ඇතිල්ලෙන්නෙ වාතය එක්ක. එතකොට, හිසකෙස් වගේද වාතය? හිසකෙස් අපට අල්ලන්න පුළුවං දෙයක්. වාතය අල්ලන්න පුළුවං දෙයක්ද?''



''බොහොම හොඳ ප්‍රශ්නෙ. හිසකෙස් ද්‍රව්‍යයක්. අපට නොපෙනුණාට වාතයත් ද්‍රව්‍ය-යක් වගෙයි. වාතයෙ කොච්චර දූවිලි අංශු තියෙනවද? වාතය කියන්නෙ වායු අංශු සහ දූවිලි අංශුවල එකතුවක්.''

''හොඳයි ඒක එහෙමයි කියමුකො. විදුලි කොටන වෙලාවට ගොරවන්නේ ඇයි?''

''විදුලි කොටන වේලාවට විසාල ගිනි පුලිඟුවක් ඇතිවෙනවයි කිව්ව නෙ? ඒ ගිනිපුලිඟුවක් එක්ක විසාල තාපයක් — ඒ කියන්නෙ රස්නයක් පිටවෙනව. ඒ තාපය නිසා අවට තියෙන වාතය එකපාරටම පිම්බෙනව — ප්‍රසාරණය වෙනව. එතකොට ඇතිවන ශබ්දය තමයි ගොරවනවයි කියන්නෙ.''

''එතකොට අකුණු ගහනවයි කියන්නෙ මොකද්ද?''

''වලාකුළක් තදින් ආරෝපණය වුණාම — ඒ කියන්නෙ වලාකුළකට විසාල විද්‍යුතයක් එකතු උනාම ඒ ආරෝපණය — ඒ කියන්නෙ ඒ විද්‍යුතය කොහාටහරි පනින්නයි බලා ඉන්නෙ. විරුද්ධ ආරෝපණයක් ඇති තවත් වලාකුළක් හම්බ උනොත් ඒකට පනිනව. එහෙම නැතුව උස ගහක් හරි කන්දක් හරි ගෙයක් හරි හම්බ උනොත් ඒ මගින් අර ආරෝපණය පොළවට පනිනව. ඒකට තමයි අකුණු ගහණවයි කියන්නෙ.''

''මිනිහෙකුට අකුණක් වැදුණොත් එහෙම මොනව වෙයිද?''

''මිනිහගෙ ඇඟේ තියෙන ජලය ඔක්කෝම එක මොහොතෙං වාෂ්පවෙලා මිනිහ කරවල කූරියෙක් වගේ වේවි''

නිමල් වහාම නැගිට, දෑත් එක්කොට හිස මුදුණේ තබා අහසට වැඳගෙන, දිග යාතිකාවක් පටන්ගත්තේය.

''මේ ලෝකෙ දෙයියො ඉන්නවනම්, අනේ දෙයියනේ, අපිව අල්ලාගෙන ඇවිල්ල මේ පාළු දූපතේ හිර කරල දැම්ම, අපි දෙන්නාගේ මාරයා වන කාලකන්නි කරෝල මුදලාලියාටත්, උගේ ගෑනිටත්, උගේ දරුවන්ටත් — නෑ උන්ට එපා — ගෑනිටයි මිනිහටයි දෙන්නාටම මහ විසාල අකුණක් පාත්වෙල උන් දෙන්නාගේ............''
මම වහා ඉදිරියට පැන ඔහුගේ කට අතින් වැසුවෙමි.

''චී චී නිමල් ඔහොම හිතන්නවත් එපා. කිසිම කෙනෙකුට නරකක් වෙන්නෙයි කියල කවමදවත් හිතන්න එපා. එහෙම හිතන්න හිතන්න නරක් වෙන්නෙ අපේ හිතමයි. දැං ගිහිල්ල හොඳ ළමය වගේ තේවතුර ටිකක් උණුකරන්න''

අපි තේ බී එළවළු පාත්තිය බලන්නට ගියෙමු. එදා මැලවී ගොස් තිබුණු මෑ සහ මුං පැල දැන් හොඳට මුල් අල්ලා සරුවට වැඩීගෙන එයි.



එයින් ධෛර්යමත්වූ අපි තවත් එළවලු පාත්තියක් හැදීමට සුදුසු බිම කොටසක් සොයා බලන්නට කතිකා කර ගතිමු. ඒ සඳහා කැලෑව අවුස්සා බලන අතර, කැලේට හැදුණු මෑ වැලක්ද අපට හමුවිය. එම වැලේ වේලුණු කරල් කීපයක්ද තිබී අපි කඩාගත්තෙමු. පසුව සිටුවීම සඳහා මම ඒවා ගුලිකර කලිසම් සාක්කුවේ ඔබා ගන්නවා නිමල් දුටුවේය. ''ඒවා මේ ගමන්ම සිටවමු''යයි ඔහු කීය. හැම වැඩකටම ඔහු දක්වන ඉක්මන්කම ගැන දොස් දැක්වූ මම, ඕනෑම බීජයක් සිටුවිය යුත්තේ ටික කලක් තිබෙන්නට ඇරීමෙන් පසුව බව අවබෝධකර දුනිමි.

ලිඳට උඩින්, වැඩියෙන් ගස්කොලන් වැඩී තිබෙන කැලෑකුට්ටිය කොටා පුළුස්සා අළුත් පාත්තිය සාදාගැනීමට මට ඕනෑ විය. එහෙත් නිමල් එයට වැඩි කැමැත්තක් නොදැක්වීය. ඔහුට අවශ්‍ය වූයේ ලිඳට පහලින් ඇති කැලය අඩු බිම කොටස තෝරාගැනීමටය. ඔහුගේ තර්කය වූයේ ලිඳට පහළ හරියට නිතරම වතුර ගලායන නිසා එහි බෝගවර්ග සරුවට වැඩෙය යනුයි. ඒ හරියේ වැල්ල වැඩි බවත්, වැලි පසේ වතුර රඳාසිටීම අඩු බවත් මම පැහැදිලි කර දුනිමි. අනික් අතින්, උඩහ කොටසේ කැලෑව වැඩියෙන් ඇති නිසා කලක් තිස්සේ කොල රොඩු දිරා යාමෙන් පස වඩා සාරවත්ව ඇති බවත් පෙන්වා දුනිමි. කරුණු වටහාගැනීමෙන් පසු ඔහු මගේ තෝරාගැනීමට කැමැතිවිය. උඩහට

වතුර ඇදීමෙ අපහසුව හා කම්මැලිකමද ඔහුගේ මුල් විරුද්ධත්වයට බලපාන්නට ඇති බව මම දනිමි.

''නිමල්, මෙක කල්දාන්නෙ මොකටද? සුළු වැඩෙ නේ? අපි දූමමම වල්කොටල දමු. එතකොට දවස් දෙක තුනකින් පුච්චල දාන්න පුළුවං. හොඳ මහත්තය වගේ ගිහිල්ල කැත්තක් ගේන්න''යයි මම වාට්ටක් දූමමෙමි. ඔහු ටිකක් අදිමදි කරමින් කාමරයට ගිය නමුත්, ආපසු එනවිට කැත්තක් පමණක් නොව උදැල්ලකුත් ගෙන ආවේය. මා කැත්තෙන් කැලෑව කපන්නට පටන්ගත් පසු ඔහු උදැල්ල ගෙන පරණ පාත්තියේ කානු සුද්ද කරන්නට විය. සිරිත් පරිදි ටික වේලාවකින් ඔහු ප්‍රශ්නයක් නැගීය.

''වල් කොටන්න ඉස්සර වෙලා හිටවන්න ඇටජාති තියෙනවද කියල බැලුවෙ නැහැ නේද? කොහෙන්ද අපි ඇට හොයා ගන්නෙ?''

''නිමල් බය නැතුව ඉන්න. මං ඒව කල්තියා හොයලයි තියෙන්නෙ. වෙලාවට දෙන්නංකො''

දවල් එකොළහ පමණ වනවිට අපි වල් කොටා අවසන් කළෙමු. ඉන්පසු, පාළුවට ගොස් තිබෙන අපේ පරණ වාඩියට ගොඩවී, ජානිස් අයියා පොල්අතු වහලේ හංගා තිබුණු එළවලු ඇට පොට්ටනි කීපයක් එළියට ගත් මම ඒවා නිමල්ට පෙන්වීමි. වම්බටු, බන්ඩක්කා මෑ, කරවිල, සහ වට්ටක්කා යන ඇට වර්ග එහි විය. නිමල් ඒවා දැක පුදුමයට පත්විය.



''හොරා! මට කිව්වෙ නෑ නෙ මේවා තියෙන විත්තිය. කවද්ද මේවා හම්බඋනෙ?''

''ඔවා හම්බඋනේ — එදා ඔයා බිලීපිත්ත ගේන්න ගියෙ? ඒ වෙලාවෙ මං නිකමට පොල්-අතු අස්සෙ අතපත ගාලා බැලුව. එතකොට හම්බඋනා. ඔච්චර විතරක් නෙමෙයි හලෝ එදා හම්බඋනෙ, මෙන්න බලන්න!''යි කියමින් මම පොල් අතු අස්සේ තිබුණු තවත් පොදියක් එළියට ඇද ලිහා පෙන්වීමි.

''ඔහ්හෙ ජ්පලයං! සල්ලි නේද? කීයද කියල ගැනල බලමු.''

''නෑ ඕන නෑ. මං ගනං කරලයි තියෙන්නෙ මෙතන රුපියල් එකසිය හැත්තෑ දෙකක් තියෙනව. ජානිස් අයියා හංගපු සල්ලි. පව්! මිනිහා පොලීසියෙං ආපු වෙලාවෙ කලබලේ දමල ගිහිං.''

''අපි ගමු නේද නන්දන. ඒත් අරගෙන...... මේ පාළු දූපතේ සල්ලි මොකටද නේද. කෝක-උනත් තියා ගමුකො. යන දවසක ගෙනියන්න බැරියැ?''

එළවළු ඇට පොට්ටනි ආපසු පොල්අතු අස්සේම ගැසූ අපි සල්ලි පොදිය පමණක් ගෙන, බන්ඩක්කා කරල් කීපයකුත් කඩා ගෙන කාමරයට ගොස් දවාලට කෑම උයාගෙන කෑවෙමු. කලින් දින බලමාළු කෑම මට අගුණවී තිබුණෙන්, දවාලට මා බත් කෑවේ බන්ඩක්කා ව්‍යංජනයත් සමගය. නිමල් නම් මාළුකුට්ටි හතඅටකටම වැඩ දෙනු පෙනිණ.

උදේ වරුවේ මහන්සි වී වැඩකළ නිසා කෑමෙන් පසු මට නිදිමත ගතියක් දැනුණි. මම ටිකක් නිදාගතිමි. නිමල් එක එක දේවල් කරමින් සිට තේවතුරත් උණුකොට සවස හතරට පමණ මට කිද්දුවේය. තේ බොන අතර මට කරදිය පිහාන මතක් විය.

''නිමල්, කොහොමද දැං ලුණු පිහාන? ගේන්නකො බලන්න''යයි මම කීමි. ''දැන්-නං ටොපට මිදිලා''යි කියමින් ඔහු එය ගෙනාවේය. වතුර සියල්ලම වාෂ්පවීගොස් ලුණුකුඩු ස්වල්පයක් පිහාන පතුලේ රැඳී තිබුණි. නිමල් ඉන් ටිකක් ඇඟිලි අග්ගිස් දෙකට ගෙන ලෙවකා බැලීය.

''හොඳටම ලුණු රහයි. හැමදම මෙහෙම ලුණු හදගෙන කමු''

''නිමල්, මේ ලුණු පිරිසිදු මදි. අපට නොපෙනුනාට මේවයෙ තව කොච්චර දේවල් තියෙනවද? ඒව ඉවත් කරල ගත්තම තමයි පිරිසිදු ලුණු ලැබෙන්නෙ. ලුණු ලේවා වල ලුණු හදනකොට හොඳට පිරිසිදු කරලයි හදන්නෙ.''

''නන්දන, අපි මූදෙං ගෙනාව ලුණුවතුර ටිකට මොකද උනේ කියල මං කියන්නං ඔයා හරිද බලන්න. වතුර ටික අව්වට වාෂ්ප වෙලා ගියා ලුණු ටික පිහානෙ ඉතුරු උනා. හරිද?''

''හරි හරි. ජලය වාෂ්ප වෙලා ගියා ලුණු ටික ඉතුරු උනා. නිමල් දැං හරි දියුණුයි නෙ''



''දැං මගේ පුරස්නෙ මේකයි, එහෙම වාෂ්ප වෙලා යන ජලය ආපහු එකතු කරගන්න පුළුවන්-නං ඒව අපට බොන්න ගතහැකි නේද?''

''ඉතාම හොඳ ප්‍රශ්නයක්. හරිම ඥානවන්ත ප්‍රශ්නයක්. නිමල් හිතාපු හැටි හරියට හරි. වාෂ්ප වෙලා යන වතුර ආපහු එකතුකර ගන්න පුළුවන්නං බීමට ඉතාම හොඳයි. මොකද නිමල්ට මෙහෙම ප්‍රශ්නයක් අහන්න හිතුනෙ?''

''අහන්න හිතුනෙ අපේ ලිඳේ වතුර කිවුල හින්ද. මට නිකමට හිතුන කිවුල නැති වතුර ටිකක් අපට බොන්න හදගන්න බැරිද කියල මේ වාෂ්ප එකතුකර ගත්තොත්''

''කරන්න අමාරු වැඩක් උනත් ඔය වැඩේ බොහොම හොඳ වැඩක්. මූදුවතුර හරි ලිං වල කිවුල් වතුර හරි වාෂ්ප කරල ආපහු එකතුකර ගන්න පුළුවන්නං කිසිම අමිහිරි රහක් නැති ඉතාම පිරිසිදු වතුර බීමට ලබාගන්න පුළුවං. සමහර රටවල දැනටමත් ඒ විදියට බොනවතුර හදගන්නවයි කියල මං සඟරාවක කියෙව්ව වගේ මතකයි.''

''ඉතිං මොකද මේ වැඩේ අමාරු වැඩක්ය කිව්වෙ?''

''මේ වැඩේ කරන්න උපකරන අවශ්‍යයි. වතුර ලිපේ උණුකරල වාෂ්ප කරගන්නවනං භාජනයෙ පියනට නළයක් හයිකරන්න ඕන. වාෂ්ප ඒ නළය දිගේ ගිහිල්ල වෙනත් භාජනයකට වැටෙන්න සලස්සවන්න ඕන. තව ක්‍රමයක්

තමයි ඉරුඑළියෙන් වාෂ්පකර ගැනීම. ඒක කරන්නෙ මෙහෙමයි. ලුණුවතුර හරි කිවුල් වතුර හරි පැතලි භාජනයකට දාල අව්වෙ තියෙනව. වීදුරු තහඩු දෙකක් අරගෙන භාජනේ උඩින් දෙපියස්සෙ වහලක් හදනව. එතකොට ජලය වාෂ්පවෙලා උඩහට ගිහිල්ල වීදුරු තහඩු වල හැපිල ජල බින්දු හැදිල දෙපැත්තට බේරෙනව. වෙනත් භාජන දෙකකට ඒවා එකතුකර ගත්තම ඉතාම හොඳ පිරිසිදු වතුර.''

එද සවස පාත්තිවලට වතුර දැමීමෙන් පසු, කාලවේලා තිබුණු හෙයින් මුහුදු වෙරළ දිගේ ඇවිදින්නට ගියෙමු. මාළු ඔරුකාරයින්ගේ වාඩිය තෙක් ගමන් කළ අපි ඔරුවක දෙකොනේ වාඩිවී නොයෙක් අනන් මනන් කතා කරමින් සිටියෙමු. ඒ අතර නිමල්ගෙන් වැදගත් ප්‍රශ්නයක් මතුවිය.

''නන්දන, මේ ඔරුවක් පැදගෙන ගියොත් අපට මේ හිරගෙදරින් බේරිල යන්න බැරිවේද? හැමදාමත් මේකෙ හිරවෙලා ඉන්න පුළුවන්ද?''

''නිමල්, ඔය කාරණේ ගැන මම හැමතිස්සෙම කල්පනා කරනව. තවම හොඳ විසඳුමක් මගේ හිතට ආවෙ නැහැ.''

''ඕන කෙහෙල්මලක් වෙන්න කියල අපි ඔරුවක් පැදගෙන යමු.''

''ඒක ඔය කියන තරං ලේසි වැඩක් නෙමෙයි. කොච්චර දුරක් පැදගෙන යන්න වේවිද? ගොඩබිම නොපෙනෙන හරියට ගියාම මොන අතට



යන්න ඕනද කියල අපි කොහොමද දන්නෙ? අපිට මුහුද මැදදි පාර වැරදුණොත් මොනව වෙයිද? කුණාටුවකට අහු වෙලා ඔරුව පෙරළුණොත් කාට කියන්නද? මං අහල තියෙනව මූදෙ අතරමං වෙච්ච ධීවරයො ගැන. දකුණු ඉන්දියාවෙ ධීවරයො අතරමං වෙලා ලංකාවෙ ධීවරයින්ට හම්බවෙලා බේරාගෙන තියෙනව. ලංකාවෙ ධීවරයො ඉන්දියාවෙ වෙරලට ගහගෙන ගිහිල්ල තියෙනව. මහමූදෙ අතරමං වෙච්ච ධීවරයො නැව්වලට හම්බවෙලා බේරගෙන තියෙනව. ඉතිං එච්චර පුරුදුකාරයින්ටත් එහෙම වෙන කොට අපි වගේ පොඩි කොල්ලො දෙන්නෙකුට කොහොම නොවෙයිද?''

''නන්දන, මට මතක් උනා දවසක් අපේ තාත්ත කොළඹ ගිය වෙලාවෙ ජේමන්ට් එකෙං අරං ආව සෙල්ලං නැවක්. ඉටිපන්දං කැල්ලක් පත්තුකරල ගැහැව්වම ඒක වතුරෙ දුවනව. ඒ වගේ මොකක් හරි හදල මේ ඔරුවකට හයිකරන්න ඔයාට බැරිද?''

''බැහැ. ඒක අපිට කරන්න පුළුවං තරං සුළු වැඩක් නෙමෙයි. ඔය සෙල්ලං නැව් මාත් දැකල තියෙනව. ඒව දුවන්නෙ මෙහෙමයි. ඉටිපන්ද, කැල්ලට උඩිං පොඩි වතුර බාජනයක් තියෙනව. ඒ බාජනේ ඉඳල නැවේ යටිපැත්තට යන බටකැල්ලක් තියෙනව. ජලය රත් වෙන කොට වාෂ්ප වෙලා අර බටය දිගේ ගිහිල්ල යට

කොනින් පිටවෙන්න උත්සාහ කරනව. වාෂ්ප වලිං ජලයට ලැබෙන තෙරපුම නිසා නැව ඉස්සරහට ගමන් කරනව.''

''එහෙනං අපි ඔරුවක රුවල් හයිකරගෙන යමුද?''

''ඒකත් බෑ. කෝ රුවලකට ලොකු රෙද්දක්?''

''ඇයි මුදලාලිගෙ ඇඳ ඇතිරිල්ල?''

''ඒක මදි. නිමල් කැමතිනං කරන්න පුළුවං එක වැඩක් තියෙනව''

''මොකක්ද මොකක්ද?''

''පීනන්න. ලංකා වෙරළ හම්බවෙනකල් පීනමු. ඇයි ආනන්දන් කියල එක්කෙනෙක් ලංකාවයි ඉන්දියාවයි සම්බන්ධකරන පෝක් සමුද්‍ර සන්දිය පීනල වාර්තාවකුත් තිබ්බෙ?''

අපි කාමරයට පැමිණෙන විට අඳුර වැටී තිබිණ. උයන්නට වෙලා මදිවූ නිසා රටත් රෙකෝඩ් දෙකක් පුච්චාගෙන බලමාලුත් සමග කා නිදා ගත්තෙමු.

පසුදා උදේ මුහුණ සේදීමට ළිඳට ගිය විට, කානුවේ තිබුණු හිස් මාළුටින් එකක් මගේ නෙතට ලක් විය. ටින් එකෙන් කැල්ලක් කපාගෙන බටයක් හදා ගත්තොත් සෙල්ලං නැවකුත් ජලවාෂ්ප එකතුකර ගැනීමේ උප-කරණයකුත් හදන්නට වෑයමක් කළහැකියයි මට



සිතිණ. මම ටින් එක අහුලාගෙන සෝදන්නට වීමි. එවිට සින්දුවකුත් දාගෙන නිමල් එහි පැමිණියේය.

''මොකටද ටින්එක? වතුර දාන්නද?''

''නෑ මේකෙන් බටකැල්ලක් හදන්න පුළුවන්ද බලන්න''

ඔහුගේ මුහුණ ආලෝකමත් විය. බටකැල්ලක් ඇත්නම් කළහැකි දේවල් දූත් ඔහු දනී.

''ඔකේ මලකඩ හැදිල නේද? ඉන්න මං වග්ගාල හොඳ එකක් හොයං එන්නං''යි කියා ඔහු වාඩිය පැත්තට දුවගොස් වෙනින් මාළුටින් එකක් සොයාගෙන ආවේය. අපි දෙකම රැගෙන ආපසු ආවෙමු.

''මොකද නන්දන ඔය අලුත්ම මාලුටින් එක ඔච්චර ඉක්මනට මලකඩ කෑවෙ?''යි එන ගමන් ඔහු ඇසීය.

''හුඟක් ලෝහජාති වාතය එක්කයි ජලය එක්කයි ගැටෙන කොට මළ බැඳෙනව. කානුවෙ තියෙන ටින්එක නිතරම තෙමෙනව නේ. ඒ නිසා ඉක්මනට මළබැඳිල.''

''මලබැඳීම වළක්වන්න මොකද කරන්න ඕන?''

''වාතයයි ජලයයි ලෝහයෙ නොගැටෙන විදියට මොනව හරි ගෑවම මල බැඳෙන්නෙ නෑ. කාර් බස්වල, එතකොට බයිසිකල් වල තීන්ත ගාන්නෙ ඒකට තමයි.''

‘‘ඇත්තද? මං හිතුවෙ ලස්සන වෙන්නෙයි කියල.’’

‘‘ලස්සනටත් එක්ක තමයි. තීන්ත විතරක් නෙමෙයි තව ක්‍රෝමියම් — ටින් — නිකල් වාගෙ ලෝහවර්ගත් ආලේප කරනව’’

‘‘එහෙනං මෙ මාළු ටින්වල ටින් ලෝහය ගාල තියෙද්දිත් ඔය මලකඩ බැඳිල තියෙන්නෙ?’’

‘‘ඒකට හේතුව මෙකයි. ඔය ටින් ලෝහය ආලේප කරල තියෙන්නෙ බොහොම තුනියට. ඒ නිසා නිකම්ම සීරිලා යනව. ඉතිං ඉක්මනටම මළ බැඳෙනව’’

කාමරයට පැමිණි පසු මළ නොබැඳුණු ටින්එක ගත් මම එය හිරමණය උඩ තබාගෙන මන්නා පිහියෙන් කපා කෑල්ලක් වෙන්කර ගතිමි. ඊලඟට එය වියලි කෝටුවක් මත තබා දෙපැත්ත පහලට නමමින්, දාර දෙක එක්කොට නැම්මක් දමා හොඳින් තලා බටයක් හදා ගත්තෙමි. ඉක්බිති බටය පොල්කටු අඟුරු වල ඔබ ඔබා රත්කරමින් බිලිකටුවක හැඩයට නමා ගතිමි. මෙසේ නමන ලද්දේ, බටයේ එක් කෙළවරක් නැව යටින් පිටුපසට හැරී තිබීම අවශ්‍ය නිසාය. එවිට ජලවාෂ්ප පිටුපසින් පිටවීමට උත්සාහ කරනු ඇත.

බටය හදා ඉවර වන විට දවල් දහයත් පසුවී තිබුණි. එය එතරම් සාර්ථක කරගැනීමට උපකාරී වූයේ නිමල් විසින් සොයාදෙන



ලද, මුදලාලිගේ ලට්ට ලොට්ට ගොඩේ තිබුණු කුඩා කටර් අඬුවකි. කටර් අඬුව තිබියදීත් අප දෙන්නා අත පුච්චගත් වාර අනන්තය.

නිමල්ට තේ ගෙනෙන්නට කියා මම අනික් මාළුටින් එක කපා බෙලෙක් නැවක් හදන්නට පටන් ගතිමි. ඔහු මොහොතකින් උණුවතුර බෝතලය ගෙනැවිත් මගේ කෝප්පයට තේ වත්කර දුන්නේය. නිතරම කරන පරිදි තේ බොන ගමන්ද ඔහුට ප්‍රශ්නයක් මතුවිය.

‘‘නන්දන, මෙ උණුවතුර බෝතලේ හදල තියෙන්නෙ මොනවයින්ද?’’

‘‘වීදුරුවලින්’’

‘‘එහෙනං කොහොමද වතුර නිමෙන්නෙ නැතුව තියෙන්නෙ?’’

‘‘මේක වීදුරු බෝතලයක් උනාට මේක ඩබල් බෝතලයක්. ඒ කියන්නෙ එක බෝතලයක් ඇතුලෙ තවත් බෝතලයක් තියෙනව. හැබැයි දෙකම එකට සම්බන්දයි. බෝතල දෙක අතරෙ වාතය අස්කරලයි තියෙන්නෙ. ඒකට කියන්නෙ රික්තයක් කියල. රික්තය කියන්නෙ හිස් කියන එකයි. තාපය ගමන් කරන්නනං ද්‍රව්‍යයක් හරි ද්‍රවයක් හරි වාතය හරි තියෙන්න ඕන. මොකුත් නැති හිස් තැනකිං තාපයට ගමන් කරන්න අමාරුයි. ඒ නිසා ඇතුලෙ බෝතලේට උණුවතුර දැම්මම, ඒකෙ ඉඳල පිට බෝතලයට රස්නය ගමන් කරන්නෙ නැහැ. තව, ඇතුල් බෝතලේ පිටපැත්තෙ රිදීපාට ආලේප කරල

තියෙනව. ඒ වගේම පිට බෝතලේ ඇතුල් පැත්තෙත් රිදීපාට ආලේප කරල තියෙනව. ඒක නිසාත් තාපය ගමන් කිරීම වළකිනව. එච්චරකුත් නෙමෙයි. බෝතලේ උඩ කෙළ-වරෙත් යට කෙළවරෙත් පොරොප්ප හරි පොලිතීන් හරි තාපය ගමන් නොකරන ද්‍රව්‍යයක් තියෙනව. ඔය කියාපු ඔක්කොම හේතු නිසා මේකෙං තාපය පිටතට යන්නෙත් නෑ, පිටිං තාපය ඇතුළට යන්නෙත් නෑ.''

''මේකට උණුවතුර දැම්මම සීතල වෙන්නෙ නැතුව තියනවනං, සීතල වතුර දැම්මොත් මොනව වෙයිද?''

''බොහොම හොඳට සීතල ගතිය ආරක්ෂා වෙවි.''

''එහෙමනං මේකට උණුවතුර බෝතලය කියන එක හරි නෑ නේද?''

''හරි නෑ තමයි. ඒ උනාට වැඩි දෙනෙක් දාන්නෙ උණුවතුර නෙ? ඒකහින්ද වෙන්න ඇති උණුවතුර බෝතලේ කියන නම පාවිච්චි කරන්නේ''

''එහෙම බෑ. අපි මේකට උණු — සීතල බෝතලේ කියල කියමු.''

''නිමල්ට ඕනඑකක් කියාගන්න''යි පැවසූ මම මගේ වැඩය කරගෙන ගියෙමි.



බෙලෙක් නැව සෑදීමෙන් පසු, බටය සවිකිරීම සඳහා කුඩා වතුර භාජනයක් සොයාගැනීමඅවශ්‍ය විය. ඊට සුදුසු යමක් ඇද්දැයි නිමලුත් සමඟ මුදලාලිගේ ලට්ට ලොට්ට අවුස්සා බලන විට, ටෙන් පෙති වගයක් දමූ වූටි බෙලෙක් ටින් එකක් හමුවිය. එය, වැඩේ සාර්ථක වන බව අඟවන පෙර නිමිත්තකැයි මට සිතිණි. ටින් එකේ පියන පැත්තකින් යකඩ ඇණයකින් සිදුරු කොට, බටයේ එක් කොනක් ඒ සිදුර ඇතුලට රිංගවා, සුළඟ නොයන තරමට සවිකර ගත්තෙමි. බටය සවිකළ තැනිනුත්, බටයේ දාරයෙනුත්, ජලවාෂ්ප කාන්දුවීම වළක්වන්නේ කෙසේද යනු ඊළඟ බරපතල ප්‍රශ්නය විය. ඒ තැන්වල යමක් ආලේප කළ යුතුමය. ඒ ගැන මා ටික වේලාවක් කල්පනා කොට විසඳුමක් නොලැබුණෙන්, ප්‍රශ්නය නිමල්ට දැමීමි. මාළු ඔරුවල වතුර කාන්දු වන විට ගාන මැලියම් ටින්එකක් මාළු-වාඩියේදී තමා දැක ඇති බව පැවසූ ඔහු, සින්දුවක් දාගෙන ඒ සඳහා වහාම පිටත් විය. විනාඩි කිහිපයක් තුළ මැලියම් බඳුන සොයාගෙන ඔහු ආපසු ආවේය. එය නවත් සුබලකුණකැයි සිතූ මම එම මැලියම් යටකී තැන්වල ආලේප කළෙමි.

ඊළඟට, නිමල් ලවා අමු ඉරටුවක් ගෙන්වා-ගෙන අර්ධ කවාකාර ලෙස නමා, එහි දෙකොන නැව දෙපැත්තේ සිරස්ව සවිකොට, බටයට සවිකරන ලද කුඩා දියබඳුන කම්බියකින් ඉරටුව මැද එල්ලුවෙමි. දැන්, නැව මැද එල්ලෙමින්

තිබෙන දියබඳුනේ සිට නැව ඉස්සරහට දිවෙන බටය, නැවට ඉදිරියෙන් පහළට හැරකී, නැවට යටින්, පිටුපස පැත්තට යොමුවී සිටී.

ඊළඟ ගැටලුව වූයේ, ඉටිපන්දම් කෑල්ලක් සොයාගැනීමය. ඉටිපන්දම් සෙවීමට නම් මුදෙන් එතෙර යායුතුය. ඒ නිසා, වෙනත් ක්‍රමයක් කල්පනා කළ මම, බෙලෙක් කෑල්ලකින්ම හතරැස් පොල්තෙල් පහනක් සාදාගෙන තිරයක්ද දමා සූදානම් කර ගත්තෙමි.

දැන්, පාළුදූපතේ හිරවී සිටින මහා විද්‍යාඥයෝ දෙදෙනා, ධූම නෞකාව දියත් කිරීම පිළිබඳ ස්වකීය මහා පර්යේෂණයේ අවසාන පියවර වෙත එළඹ සිටිති!

නිමල් බිම ඇණතියා ගත් ගමන් පිටුපසද වනවනා ඇසිපිය නොහෙළා බලා සිටී. එහෙත් මා සිටින්නේ වැඩේ හරියාවිද නොයාවිද යන දෙගිඩියාවට මැදිවී. මහත් අසීරු තත්ත්වයකය. මීට පෙර, අනන්ත අප්‍රමාණ කඩදසි නැව් සාදා වතුරේ පාකර පුරුදු ඇතත්, බටයක් යොදා මෙවැනි දෙයක්නම් කවදවත් කරනැත. ජෙට් අහස්යානා සහ රොකට්ද ගමන්කරන්නේ මෙම මූලධර්මය මත යයි මා ඉගෙන ගෙන ඇත. මෙයට මූලික වී ඇත්තේ, සෑම ක්‍රියාවකටම විරුද්ධ ප්‍රතික්‍රියාවකුත් ඇත යන, නිව්ටන්ගේ චලිතය පිළිබඳ තුන්වැනි නියමය බවද මට මතකය. එහෙත් මෙවැනි දෙයක් මගේම දැතින් කරන්නට යන ප්‍රථම අවස්ථාව මෙයයි. වැඩේ අසාර්ථක වුවහොත්, නිමල් ඉදිරියේ මෙතෙක්



ආරක්ෂා කරගෙන ආ මගේ පණ්ඩිතකම මැකී යනවාට කිසි සැකයක් නැත. මූලධර්මය හරි වුවත්, වැඩේ කොතැනක හෝ අඩුවක් තිබෙන්නට බැරි නැත. නිමල්ට නොපෙනෙන්නට මෙය ක්‍රියාකරවා අත්හදා බලන්නට ඇත්නම් කොතරම් හොඳදැයි මට සිතෙයි. එහෙත්, එය කරන්නට පිළිවෙලක් නැත. මිනිහා ළඟටම වී පස්සෙන් වනවනා කටත් ඇරගෙන බලාසිටියි. මෙයාව මෙතැනින් ටිකකට හරි පිටකර ගන්නට උපක්‍රමයක් ඇත්නම්! අනේ, මොහුට මේ මොහොතේ වැසිකිළියටවත් යන්නට උවමනා වෙනවානම් කොච්චර එකක්ද!

ඊළඟ මොහොතේ සිදුවූයේ අතිශයින්ම පුදුම එළවන සිද්ධියකි. මා මෙසේ කල්පනාවෙ ගිලී සිටින අතර, මගේ සිත දැනගත්තාක් මෙන්, නිමල් හදිසියේම නැගිට්ටේය.

''මං වග්ගාල වැල්ලට දුවල එන්නං. හැබැයි, මං එනකල් නැව දියත් කරන්න එපා හොඳේ මගේ සුදු නන්දනා''යි කියමින් ඔහු මගේ ඔළුවද අතගා වෙරළ දෙසට ඉගිලී ගියේය!

මේ සිදුවූයේ සල්ලි දීලාවත් කරවාගන්නට බැරි වැඩකැයි සිතූ මම, දෙවියන්ට පින්දී, ඔහු එන්නට කලින් වහ වහා ක්‍රියාත්මක වීමි. නිමල් නොපෙනීයනවාත් සමගම, මම නැගිට කුස්සියට දුවගොස්, හාල් ගරන කොරහට වතුරත් පුරවාගෙන ගිනිපෙට්ටියද රැගෙන මිදුලට ආවෙමි. වහාම නැව කොරහේ තැබූ මම, පොල්තෙල් පහන දියබඳුන යටින් තැන්පත්කර, ගිනිකූරක්

ගසා තිරය දැල්වූයෙමි. ජයග්‍රහණය හා පරාජය පිළිබඳ හැඟීම මගේ සිත තුළ තරඟ කරද්දී, කුමකින් කුමක් වේදැයි යන අවිනිශ්චිත නොඉවසිල්ලෙන් මම බලා සිටියෙමි. විනාඩි දෙකක පමණ දීර්ඝ කාලය කිසිවක් සිදුනොවී ගෙවී ගියේය. එහෙත්, ඊළඟට, ආශ්චර්යයකි! විනාඩි දෙක අවසාන වනවාත් සමගම නෞකා තොමෝ සෙමෙන් සෙමෙන් ඉදිරියට චලනය වන්නට ප – ට – න් – ග – ත් – තා – ය!

නැව දැන් ටිකින් ටික ඉදිරියට ඇදෙයි. එසේ ඇදීගොස් සුළු වේලාවකදී කොරහ ගැට්ටේ හැපී නතර විය. මා එය අතින් හරවා පොඩි තල්ලුවක් දුන් විට, නැව නොනැවතීම කොරහ වටේ රවුමට යාත්‍රා කරන්නට පටන් ගත්තේය. මා නැවක නැගී ලෝකය වටේ යාත්‍රාකරන්නාක් වැනි හැඟීමක් මට ඇතිවිය. මහා පර්යේෂණය සර්වප්‍රකාරයෙන්ම සාර්ථක විය. මගේ ප්‍රීතිය කෙතරම් උත්සන්න වී ගියාදැයි කියතොත් මට එක වරක් නිකම්ම උඩ පැනුණේය!

එහෙත්, මේ සියල්ල නිමල්ගෙන් සැඟවිය යුත්තේය!

මම වහා පහන නිවා, නැව කොරහෙන් ඉවතට ගෙන බිම තබා, කොරහද ගෙන ගොස් කුස්සියේ තැබීමි. දියබඳුන යටිපැත්තේ වූ දැලි කඩමුඩියේ පිසදාන්නට ගොස් නැවත වරක් අතද පුච්චා ගත්තෙමි. ජයග්‍රාහී හැඟීම නිසා ඉන් වේදනාවක් දැනුණේ නැත.



නුදුරින් සංගීත රාවයක් ඇසෙන්නට වූයෙන්, නිමල් ළඟ එන බව වැටහිණ. මම ඔහුට පේන්ටම කුස්සියට ගොස් වතුර කොරහ නැවත ගෙනැවිත් මිදුලේ තබමින්, ගිනිපෙට්ටිය ගෙනෙන ලෙස ඔහුට කීමි. ඔහු බලා සිටිද්දී නැව කොරහේ තැබූ මම, පහන පත්තුකර දියබඳුන යටින් තැන්පත් කළෙමි. ඊළඟ මොහොතේ, නැව ඇඟිලි දෙකින් අල්ලාගත් මම මහත් ආඩම්බරයෙන් නිමල් දෙසට හැරුණෙමි.

''මොකද නිමල් කියන්නෙ? වැඩෙ හරියාවිද?''

ඔහුට ඒ ගැන සැකයක් නැත. ඔහුට ඕනැ තව දුරටත් ප්‍රමාද නොකර වැඩෙ පටන් ගැනීමටය. ''හරියාවි හරියාවි හරියාවි''යයි ඔහු කියාගෙන කියාගෙන ගියේ එහෙයිනි.

මම පොඩි තල්ලුවක් දෙමින්ම නැව අතහැරියෙමි. නිමල්ගේ මුවගට මඳසිනා නංවමින් නැව ගමනාරම්භ කළේය. එය නිරුපද්‍රිතව කොරහ වටේ රවුමට යාත්‍රා කරන්නට විය. ''ආයිස් අප්පඩා! ආයිස් අප්පඩා!''යි කියමින් ප්‍රීතිය හා පුදුමය ප්‍රකාශ කළ ඔහු, ඇණතියාගත් ගමන්ම නැවතත් පිටුපස වනන්නට විය. එපමනක් නොව, නැවේ ගමන් තාලයට ශබ්ද කරන්නටද පටන් ගත්තේය.

කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු කුවු

ටික වේලාවකදී පහනේ තෙල් ඉවර වෙගෙන ගියෙන්, තව තෙල් ටිකක් වත්කර මම නැගිට්ටෙමි. මගේ සිත ඇතුලේ පිරී ඇති ජයග්‍රාහී සන්තෝසය ඔහුට නොදැනෙන පරිදි, කිසිවක් සිදු නොවූවාක් මෙන් මම එතැනින් ඉවත්ව ගියෙමි.

මද වේලාවකින් මා නැවත පැමිණ බලන විට, නිමල් නැවට කුඩා කොල වගයක් දමමින් සිටියේය.

''මොනවද මේ ?''යි මම ඇසුවෙමි.

''බඩු! මේක බඩු නැවක් නෙ''

මට හිනා ගියේය. මම ද එතැන ඇණතියා ගත්තෙමි.

''නිමල් දන්නවද මේක ගමන් කරන්නෙ කොහොමද කියල ?''

''ඔව් දන්නව. නෑ අනේ දන්නෙ නෑ. කියන්නකො කොහොමද කියල.''

''දෑං ඔය පානට උඩින් තියෙන වතුර භාජනේ රත්වෙනව. එතකොට ඒක ඇතුලෙ තියෙන වතුර වාෂ්පවෙලා බටය දිගේ යනව. ගිහිල්ල බටයෙ යට කෙළවරෙන් පිටවෙන්න වෑයම් කරනව. තව විදියකට කියනවනං, වාෂ්ප වතුරට තෙරපුමක් දෙනව. එතකොට, වතුරත් තෙරපුමත් දෙනව නැවට. ඒ නිසා නැව ඉස්සරහට තල්ලු වෙනව.''

''මට ඒක හරියට තේරුණේ නැහැ.''



''ඕනැම ක්‍රියාවකට විරුද්ධ ප්‍රතික්‍රියාවකුත් තියෙනව. ඔරුවක නැගිල හබලෙං වතුර පස්සට තල්ලුකරනකොට, වතුරත් තල්ලුවක් දෙනව ඔරුවට. ඒ නිසා ඔරුව ඉස්සරහට යනව. නැව යන්නෙත් ඒ වගේ තමයි. අපි ගහක අත්තක් එහාට තල්ලුකරන කොට, අත්ත උත්සාහ කරනව අපේ අත මෙහාට තල්ලු කරන්න.''

මා කියන දෙයට වඩා නැව කෙරෙහි නිමල්ගේ සිත ඇදී ගොස් තිබෙන බව වැටහී ගියෙන් මම නැගිට්ටෙමි. ඔහුට ඇතිවනතුරු නැව පදවන්නට ඉඩදී මම දවාලට බත් උයන්නට වීමි.

දවල් කෑමෙන් පසු එළවලු පාත්තිය බලන්නට ගිය අපි, අළුත් පාත්තිය සඳහා කපන ලද කැලය පුළුස්සන්නට උත්සාහ කළෙමු. කැලය හොඳින් වේලී නොතිබුණු හෙයින් එය සාර්ථක නොවීය. ඉන්පසු එම වල් තවත් හොඳින් වේලීම පිණිස කෝටුවලින් අවුස්සා පෙරලා දැමීමු. ඉක්බිති රට මැල්ලුමක් සාද ගැනීමට මැකොල ටිකක් කඩන්නට මා ගිය විට, නිමලුත් ඇවිත් මට සහාය විය. ඔහු ඉවක් බවක් නැතිව මැවැල් සූරනු දුටු මට තරහ ආවේය. ''මැවැල් ටික මරන්නද ඕයි හදන්නෙ ?'' යි මට කෑ ගැසුණේය.

''බය වෙන්න එපා නන්දන, ආයෙමත් කොල හැදේවි වතුර දනකොට.''

''ඒක වැරදි කතාවක් නිමල්. පැලෑටි වලට ආහාර නිපදවා දෙන්නෙ කොල. කොලටික ඔක්කෝම එකපාරට කඩාගත්තාම පැලෑටිය හැදෙන්නෙ කොහොමද?''

''අනේ මං හිතුවෙ පැලෑටි ආහාර ගන්නෙ මුල්වලිං කියල''

''මුල්වලිං ගන්නෙ ජලයයි පසේ තියෙන ලවණ වර්ගයි විතරයි. ආහාර නිපදවන්නෙ කොලවල. ජලයයි කාබන්ඩයොක්සයිඩ් වායුවයි හිරුඑළියයි කියන තුන එකතු උනාම කොලවල ආහාර හැදෙනව. වැඩිපුර ඇති ජලය වාෂ්පවෙලා පිටවෙන්නෙත් කොලවල තියෙන සිදුරු වලිං. එච්චරකුත් නෙමෙයි. ඔක්සිජන් පිට කරන් නෙත් කොලවලිං. දූං තේරෙනව නේද පැලෑටි-වලට කොල කොච්චර ප්‍රයෝජනවත්ද කියල?''

මැකොල කඩන අතර හදිසියේම ''ඌයි මගෙ කකුල''යි කියමින් නිමල් සිටිතැනම වාඩිවිය. මම වහා දුවගොස් බැලීමි. ඔහුගේ යටිපතුල බෝතල කටුවකට කැපී ලේ ගලමින් තිබිණ.

''ආ ඕක සුළුදෙයක්. බය වෙන්න එපා. අපි ගිහිල්ල මොනව හරි කරමු.'' යි කියා ඔහුගේ බිය තුනී කළ මම ඔහුව වත්තන් කරගෙන කාමරයට ගියෙමි. එහිදී ඔහු කැගසද්දීම තුවාලය සෝද මීපැණි ටිකක් දමා රෙදි කැල්ලකින් බැන්දෙමි. මීපැණි හොඳ විෂබීජ නාශකයක් බවත්, තුවාල වලට දැමීමෙන් ඉක්මනට සුව වන බවත් මා ඉගෙන ගෙන



තිබුණු හෙයින් මෙසේ ඉක්මනට ප්‍රතිකාර කළ හැකි විය. කෙබඳු තුවාලයක් වුවත් පිටගැස්ම වළක්වන එන්නත දිය යුතුමයයිද, එය ප්‍රමාද වෙනවානම් වෙනිවැල්ගැට තම්බා පෙවිය යුතුයයිද මා අසා තිබුණෙන්, මගේ ඊළඟ කාර්යය වූයේ වෙනිවැල්ගැට සොයා යාමය.

නිමල් ඇඳේ හාන්සි කරවූ මම වාඩියට දුව-ගොස් එහි හැමතැනම අවුස්සා බැලුවෙමි. මගේ උත්සාහය සාර්ථක නොවීය. මෙච්චර පිරිසක් හිටි තැනක වෙනිවැල්ගැට කැල්ලක් නොතිබීම මගේ පුදුමයට හේතු විය. වහලේ හැම පොල් අත්තක් අස්සේම අත දමා බැලීමෙන් අපතේ ගිය වටිනා කාලය පැය බාගයකටත් වැඩිය. ඒ අතරතුරේ හමුවූ පත්තෑයකුගෙන් මා බේරුණේ නිමල්ගේ වාසනාවටය.

උත්සාහය අසාර්ථක වීමත් සමගම, මීට පෙර නොවූ විරූ බියක් මගේ සිතට ඇතුල්වී ඇත. අප දෙදෙනාගෙන් කිසිවකුටත් මේ වන තෙක් කිසිදු ශාරීරික ආපදවක් සිදුනොවූ නිසා මෙවන් බියක් මීට කලින් දැනී නැත. එහෙත් මේ පාළුදූපතේ වෙනත් මිනිස් කටහඬක් නැතිව වෙනම ලෝකයක සිටින්නාක් බඳු මේ ඉඳුම කෙතරම් භයානකදැයි වැටහෙන්නේ දැන්ය. මෙයට වඩා ලොකු අනතුරක් සිදුවුවහොත් කියන්නේ කාටද? ලොකු අසනීපයක් හැදුණොත් යන්නේ මොන දොස්තර ළඟටද? දැන් මේ නිමල්ගේ තුවාලයම උනත් මොන තත්වයකට හැරේදැයි කවුරු දනීද?

ඉරටුකැල්ලක් ඇනුණු කෙනෙකුටත් පිටගැස්ම හැදී පරලොව යන්නට සිදුවූ පුවතක් මගේ මතකයට නැගෙයි. මගේ සිත පාළුවෙන් බියෙන් හා සැකයෙන් පිරී පුපුරා යන්නාක් මෙන් දැනෙයි. මහත් සේ තැතිගත් මම කර කියා ගතහැකි දෙයක් නොදැන පිස්සකු මෙන් මුහුදු වෙරළ දිගේ ඔහේ ඇවිදගෙන ගියෙමි.

දහසක් කල්පනා අතර වල්මත්ව මෙන් ගමන් කළ මා නොදැනුවත්වම වාගේ මාළුකාරයින්ගේ වාඩිය දෙසට ඇවිත් තිබුණි. අසිහියෙන් මෙන් මාළුවාඩියට ඇතුළු වූ මම නිකමට වටපිට බැලුවෙමි.

ද්—දෙයියෝ සාක්කි! ආන්න වෙනිවැල්ගැට කැල්ලක්!

මගේ ප්‍රකෘති සිහිය ආවේය. වහලේ පොල් අත්තක් අස්සේ. කොනක් එළියට හිටින්ට ගස තිබුණු වෙනිවැල්ගැට කැල්ලක් මගේ තියුණු නෙත් සොයා ගත්තේය. එකෙණෙහිම ''ආනේ නිමල් ඔයා බේරුණා!''යි යන වචන මගේ මුවින් ගිලිහිණ. මොහොතකට කලින් සිත පුරවාගෙන සිටි දුක්වේදනා සියල්ලම විදුලි කෙටුවාක් මෙන් පහව ගියේය. මම එක පාරින්ම උඩ පැන වෙනිවැල්ගැට කැල්ල උදුරාගෙන කෙළින්ම කාමරය බලා දුවන්නට වීමි. අතරමගදී මුලක හැපිලාදෝ මා බිම වැටුණාක් මෙන් දැනුණ නමුත් ඒ ගැන තවමත් හරිහැටි මතකයක් නැත.



මා යනවිට නිමල් සිටියේ තද නින්දේය. මම හනි හනික වෙනිවැල්ගැට කැල්ලෙන් ටිකක් ලියා වතුර හට්ටියකට දමා තැම්බුවෙමි. තරමකට හිඳුන පසු ඉන් වතුර ටිකක් ගෙන නිමල්ට කුද්දා පෙවුවෙමි. හිසේ පටවා තිබුණු බඩු හොන්ඩරයක් බිම තැබුවාක් වැනි හැඟීමක් මට ඇති විය.

එදින රාත්‍රියේ බොහෝ වේලාවක් යනතුරු මට නින්ද ගියේ නැත. මේ හිරගෙයින් මිදී බේරී යන්නේ කොහොමද යන හැඟීම එදින තරම් තදින් ඊට පෙර කවදවත් මට වදදී නැත. හැමදමත් නින්දට ගියවිට මේ කාරණය ගැන නොයෙක් දේ කල්පනා වූවද, මෙද තරම් වේදනාවක් ඒ කිසි දවසක දැනී නැත. පොලීසියෙන් අල්ලාගෙන ගිය එවුන් එකෙකුට-වත් අප දෙදෙනා ගැන තවමත් මතක් වී නැද්ද? අනේ තව කොල්ලො දෙන්නෙක් වාඩියේ මගඇරී ඇතැයි ඒ එකෙකු හරි කීවානම්, මෙලහකට පොලීසිය ඇවිල්ලා අපව බේරාගෙන නේද? පොඩි එවුන්ට කොහොම උනත් ජානිස් නාකියාටවත් අප ගැන මතක් වූයේ නැද්ද?

මට නිදිමත නැත. මම හතර පස් වතාවක් දොර ඇරගෙන එළියට ගොස් ආවෙමි. නිමල් නම් ගොරව ගොරවා සැප නින්දේය. මිනිහට වැඩි අමාරුවක් නැතුව ඇති. අමාරුවක් තියෙනවානම් ඔහොමත් නින්ද යාවියැ? අඩු-ගණනේ කෙඳිරිගාන්නවත් එපායැ!? මාර නින්ද!

ගොරවනවා, ගොරවනවා, ගොරවනවා. දැන් කීයට විතර ඇද්ද? කුකුල්ලු අඬලන වෙලාවට විතර ඇති. ඒකවත් දැනගන්න මෙහේ ඉන්නවයැ කුකුල්ලු? අපි දෙන්න තමයි මෙහාට ඉන්න කුකුල්ලු දෙන්න. හ් .වා. යි.

පසුදා මට ඇහැරුණේ නිමල් කීද්දු විටය. හොඳටම දවල් වී ඇති බව ජනේලයෙන් ගෙට වැටී තිබුණු හිරුඑළිය පටියෙන් තේරුම් ගතිමි.

''නිමල් දැං කීයට විතර ඇද්ද?''

''ඊයෙ වෙලාවට විතර ඇති''

''ගොනා!''

මම නැගිට්ටෙමි. ඔහුට මා සිතූ තරම් අමාරුවක් නැතිබව මට වැටහුණේ ඔහු තේ උණුකර රොටිත් පුච්චා ඇතිබව දුටු විටය. මම තේ බොමින් ඔහුට කතා කළෙමි.

''දැං කොහොමද කකුල? රිදෙනවද?

''නැහ්!''

''එහෙනං නොන්ඩි ගහන්නෙ?''

''එතන බිම වදිනකොට නං රිදෙනව''

මගේ සිතේ ඇඳී තිබුණු තරමේ භයානක තත්වයක් ඇත්ත වශයෙන්ම නැතිබව වැටහීමෙන් මගේ සිත සැහැල්ලු විය.

''නිමල් බය වෙන්න එපා. ඕක දවස් දෙකෙං සනීපවේවි. මීපැණි තුවාල වලට හරි හොඳ



බේතක්. කොයි එකටත් වෙනිවැල්ගැට ටික ආයිත් රත්කරගෙන බොන්න''

වේලාව බලාගැනීමට මොකක් හෝ උපකරණයක් හදගන්නට ඇත්නම් කෙතරම් ප්‍රයෝජනවත්දැයි මට මුලින්ම කල්පනා වූයේ ඊයේ රාත්‍රි නිදිමරමින් සිටින විටය. දැන් උදේ මා වේලාව ඇසූවිට නිමල් දුන් පිළිතුරෙන් එහි අවශ්‍යතාවය තවත් තදින් දැනුණි. අද අනික් සියලු වැඩ නතරකොට ඒ ගැනම නිරත වීමට මට සිතුණි. මම කල්පනාවට වැටුණෙමි.

ඉස්සර කොහේදෝ රටක සිටි මිනිසුන් වේලාව දැනගැනීමට පාවිච්චි කළ සරල උපකරණයක් මගේ මතකයට ආවේය. මට මතක හැටියට, ඔවුන්ගේ උපකරණය හට්ටියකි. හට්ටිය හිල්කර ලොකු වතුර භාජනයක තැබූවිට, අර සිදුරෙන් ටික ටික වතුර ඇතුල්වී හට්ටිය පිරෙයි. එය පිරෙන්නට ගතවන කාලය පැයක් ලෙස ඔවුහු සැළකූහ. අද නිමලුත් එකතැන්වී සිටින නිසා මෙබඳු උපකරණයක් හදමින් ඔහු ළඟ රැඳීසිටීම වඩාත් සුදුසුයයි මට සිතිණ.

''නිමල්, අද මම ඔරලෝසුවක් හදන්නයි සූදනම''

''මොනවා? නන්දනට පිස්සුද? ඔරලෝසුවක් හදන එක අර නැව හදනවා වාගෙ සුළු වැඩක්ද? කෝ බඩු? කෝ ආවුද?''

"ඔරලෝසුවක් කිව්වට ඔරලෝසුවක්මත් නෙමෙයි. වෙලාව බලාගන්න මොකක් හරි උපකරණයක්. ඊයේ රෑ මට වෙලාව බලාගන්න කී වතාවක් උවමනා උනාද? දවල්ටනං රේඩියෝ එකෙං වෙලාව ඇහෙනව රෑට හදිසියක් උනොත් වෙලාව දැනගන්නෙ කොහොමද? නිමල්ගෙං ඇහුවත් දැනගන්න පුළුවං ඊයෙ වෙලාව නෙ? ඔයා වාඩිවෙලා බලා ඉන්න. මං මොකක් හරි හදන්නංකො.''

සුළු වේලාවකින් මම සැලැස්මක් හිතේ ඇඳගත්තෙමි. ඒ අනුව, ලොකු හැලියක් ගෙන යකඩ ඇණයකින් පතුලේ කුඩා සිදුරක් විදගත්තෙමි. ඊලඟට කෝටුකැල්ලක් ගෙන, එහි එකපැත්තක් මට්ටම් වනසේ ඇස දමා, අර හැලිය තුළ කෙළින් සිටවූයෙමි. දැන් අමාරු වැඩ කොටස ඉවරය.

ඉක්බිති මෙම හැලිය වතුර බාල්දියක දමා නිමල්ගෙ ඇඳ ළඟින් තැබීමි. ගුවන්විදුලියේ වේලාව ප්‍රකාශ කරන හැම පැයකදීම කෝටුවේ වතුර මට්ටම පිහියෙන් ලකුණු කිරීමට ඔහුට උපදෙස් දුනිමි. ඔහු අතන මෙතන ඇවිදීමෙන් වළක්වා එකතැනක රඳවා තැබීමටද මෙය හොඳ උපායක් විය. ඔහු කෝටුවෙ ලකුණු කිරීම පටන්ගත්තේ ගුවන්විදුලියේ දහවල් දහය නිවේදනය කරන විටය. එතැන්සිට සවස හය වනතුරු පැයෙන් පැයට ඔහු දුනුපිහියෙන් කෝටුවේ ඉරිකැල්ලක් ගසමින් වතුර මට්ටම ලකුණු කළේය. ඉන්පසු පහළම ඉරිකැල්ලෙන්



පටන්ගෙන, එක් එක් ඉරිකැල්ල ළඟින් 10,11, 12,01,02,03,04,05 යන ඉලක්කම් පිහිතුඩින් මම ලකුණු කළෙමි. අපි සාමාන්‍යයෙන් නිද ගන්නේ රාත්‍රී නවය පසුවී බැවින්, යටකී අයුරින් ඉලක්කම් ලකුණු කරන ලද්දේ රාත්‍රී නවයෙන් පසු වේලාව බලාගැනීම සඳහාය.

එදින රාත්‍රී ගුවන්විදුලියෙන් නවය නිවේදනය වෙනවාත් සමගම, හිස් හැලිය වතුර බාල්දියේ තබා බලා සිටියෙමු. රෑ දහය නිවේදනය වනවිට කෝටුවේ පළමු කට්ටිය දක්වා–එනම්, 10 ඉලක්කම දක්වා ජලමට්ටම නැග තිබුණේය. තවත් විදියකට කියතොත්, ගුවන්විදුලියෙන් දහය නිවේදනය වන විට, අපේ මුට්ටි ඔරලෝසුවේද වේලාව දහය විය.

නොබෝ වේලාවකින් නිමල්ට නින්ද ගිය නමුත්, අභිනව මුට්ටි ඔරලෝසුවේ වේලාව බලබලා තවදුරටත් ප්‍රීතිවීමේ බලාපොරොත්තුව නිසා මට එද රෑත් හරියකට නින්දක් නොවීය. එසේ සන්තෝස වන්නට අදහස් කළ නමුත්, නොයෙක් කල්පනාවල් සිතට ඇතුළුවීම නිසා මට වැඩිපුර විඳින්නට සිදුවූයේ සතුටක් නොව මානසික වද වේදනාවල්ය.

අප දෙදෙන කෙතරම් විනෝදයෙන් මෙම දූපතේ ජීවත් වුවද, මෙය ඉතා අනතුරුදායක ජීවිතයක් බව කියමින් මගේ සිත දිගින් දිගටම කරදර කරන්නට විය. මේ හිරකුඩුවෙන් ගැලවී යාමට මාර්ගයක් දැන්නම් නොපමාව සොයාගත

යුතුය. මින් ඉදිරියට කරන හැම වැඩක්ම යොමුවිය යුත්තේ එම පරමාර්ථය මුදුන්පත් කරගැනීම සඳහාය.

ගැලවීයාම පිණිස අපට කළහැකි දේවල් මොනවාදැයි එකින් එක ගෙන මම විමසන්නට වීමි. නිමල් යෝජනා කළාක් මෙන්, ඕනෑ දෙයක් වෙද්දෙන් කියා මාළු ඔරුවක නැගී මහමුද මැදින් ඔහේ පැදගෙන යමුද? නැත්නම්, මා විහිළුවට යෝජනා කළාක් මෙන් මහසයුරට වැද පීනාගෙන යමුද? නැතිනම්, මේ එකක්වත් නොකර කවුරුහරි, කවදහරි, අපව බේරාගෙන යන්නට එනතුරු බකන්නිලාගෙන සිටිමුද? එහෙම සිටියොත්, හාල් බඩු ඉවර උනායින් පසු කන්නේ පස්ද?

මම හතරවැනි වරටද ලන්තෑරුමේ එළිය වැඩිකර, මුට්ටි ඔරලෝසුව දෙස බැලුවෙමි. කෝටුවේ දෙකේ ඉලක්කමත් යටකර ගෙන වතුර මට්ටම නැග තිබුණි. මම නැවත හාන්සි වී යළිත් වරක් කල්පනා සාගරයේ පීනන්නට වීමි. අපේ මිත්‍රයා නම් ගොරව ගොරවා සැපට බුදිය!

සිහිනයෙන් මෙන් මට එක්තරා අදහසක් පහළ විය. දූපතේ සිටින අපට නොපෙනුනාට, නැව් මෝටර් බෝට්ටු මාළු ඔරු ට්‍රෝලර් යාත්‍රා ආදිය ඇත මුහුදේ ඉඳහිටවත් ගමන් කරනු ඇත, ඔවුන්ට පෙනෙන තරම් උසකින් සුදු කොඩියක් එල්ලා තබන්නට ඇත්නම්, සමහරවිට අපට ගැලවීමේ මාර්ගයක් උද වන්නට බැරිකමක් නැත. එහෙත්, එතරම් උසකින් කොඩියක් එල්ලන්නේ



කොහොමද? ලී ටිකක් කපාගෙන එකින් එක පුරුද්ද උසට බැඳීමෙන් සෑහෙන උසක් ඇති අට්ටාලයක් බැඳගැනීමට උත්සාහයක් කළොත් නරකද? එසේ කළොත්, එය මුදුනේ කොඩියක් එල්ලා තැබීමට පුළුවන් වනවා පමණක් නොව, අට්ටාලයට නැගී දුනට නොපෙනෙන ඇත තිබෙන දේවල් දැක බලාගෙන ප්‍රීතිවීමේ අවස්ථාවක්ද අපට උදවනු නොඅනුමානය.

පසුවද නැගිට්ට හැටියේම මගේ අළුත් අදහස නිමල්ට හෙළි කළෙමි. ඔහු එක පයින්ම එයට කැමති විය. ඔහු එසේ කැමතිවූයේ, ඉන් මා බලාපොරොත්තුවන ප්‍රයෝජනය ගැන සිතා නොව, අට්ටාලයට නැගී දුනට නොපෙනෙන දේවල් නැරඹීමේ ආසාවෙනි. පෘථිවියේ ගෝලාකාර බව ඔහුට අවබෝධ කර දීමටත් මෙය උදව් වනු ඇත යන හැඟීම මගේ උනන්දුව තවත් වැඩි කළේය.

ගුවන්විදුලියට සවන් දෙමින් ඇඳේම සිටින ලෙස නිමල්ට අවවාද කළ මම කැත්තක් ගෙන කැලේට රිංගුවෙමි. දහවල් දහය පමණ වන විට, ඇද නැති ලී මිටියක් හා වැල් මිටියක්ද කපාගෙන එන්නට මට පුළුවන් විය. ඉක්බිති අඩි හතරක් පමණ දිග පළල ඇති සමචතුරශ්‍රයක් මිදුලේ ලකුණු කොට, මුළු හතරේ වලවල් හතරක් අලවංගුවෙන් හාරා, ලී හතරක් සිටවූයෙමි. ඉනිමගක හරස් ලී බඳින ආකාරයට මේ කණු හතරේම හරස් ලී දෙක බැගින් තබා තදට බැන්දෙමි. ඊළඟට එම හරස් ලී මත

සිටගෙන, තවත් ලී හතරක් කෙළින් අතට මුල් කණු හතරට පුරුද්දා බැන්දෙමි. මේ ආකාරයට, දිගින්දිගටම හරස් ලීත් සිරස් ලීත් බැඳීමෙන්, එදා හවස් වන විට අඩි විස්සක් පමණ උස්වූ ලී කුළුණක් හෙවත් අට්ටාලයක් සාදගත හැකි විය. උඩට යන්ට යන්ට දර්ශනපථය වඩ වඩා පුළුල් වී පෙනෙන්නට වීමෙන්, මගේ කුතුහලය හා සන්තෝෂයත් වඩ වඩා පුළුල් වී ගියේය.

අට්ටාලය සාද අවසන්වූ මොහොතේ, කෙනෙක් අවවාද කළත් නිමල් බිම රඳවා තැබීමට නුපුළුවන් විය. ඔහුත් නොන්ඩි-ගසමින් ඇවිත් බලාත්කාරයෙන්ම වාගේ එයට නැග, මෙතෙක් නුදුටු අළුත් දර්ශන බලමින් විනෝද වන්නට පටන්ගත්තේය. කලින් දැක තිබුණු මුහුදු ප්‍රදේශයට වඩා විශාල මුහුදු ප්‍රදේ-ශයක් හතර පැත්තෙන්ම අපට දැකගන්නට හැකි-විය. අපේ මුළු දූපතම ප්‍රථමවරට අප සම්පූර්ණයෙන්ම දැකගත්තා පමණක් නොව, ගස්කොලන් සහිත තවත් කුඩා දූපත් කීපයක නොපැහැදිළි ඡායාවන්ද ඈත මුහුදේ යාන්තමට දැකගත හැකිවිය. පෘථිවියේ ගෝලාකාර බව නිමල්ට පමණක් නොව මටද ඇස්පනාපිට බලාගන්නට පුළුවන් වූයේ මෙම අවස්ථාවේදීය.

නුදුටු නුපුරුදු දර්ශන නරඹමින් පැයක් පමණ වේලාවක් අපි අට්ටාලය මුදුනේ මහත් සන්තෝසයෙන් ගත කළෙමු. අවසානයේ, තවත් ලියක් එහි කෙළින් අතට බැඳ, මුදලාලිගේ සුදු ඇඳ ඇතිරිල්ල ගෙනගොස් කොන් දෙකකින්



ලීයේ ගැටගැසුවෙමි. එය විශාල සුදු කොඩියක් මෙන් දිගඇරී සුලඟට ලෙල දෙන්නට වූයේ, අපේ විද්‍යාලයේ උත්සව දිනවලට ඔසවන ජාතික කොඩිය මගේ මතකයට නංවමිනි.

මෙ සියල්ල කර අවසන් වන විට සවස හයත් පසුවී තිබිණ. තව දුරටත් කළයුතු දේ ගැන සිතීම පසුවට තබා, රෑ බත ඉක්මනට උයාගෙන කෑ අපි වේලාසනින්ම නින්දට ගියෙමු. කවරදකවත් නොදැනුණු මහන්සියක් එද දැනුණු හෙයින් මට ඉතාම හොඳින් නින්ද ගියේය.

පසුද උදේ නැගිට්ට හැටියේම සුලඟට ලෙල-දෙන දැවැන්ත කොඩිය දිහා බලාගෙන ඊලඟට කළයුත්තේ කුමක්දැයි මම මිදුලට වී කල්පනා කරමින් සිටියෙමි. ඈත මුහුදේ ගමන් කරන යාත්‍රාවකට මෙ කොඩිය පෙනුණොත් නිසැක-යෙන්ම අපට ගැලවීමෙ වාසනාව උදවෙතැයි මට සිතිණ. එහෙත් නොපෙනුණොත්?

කොඩිය පෙනුණත් පෙනෙන්නේ දහවල් කාලයට පමණක් නොවේද? රාත්‍රියටත් එය පෙනෙන්නට ක්‍රමයක් යොද ගන්නට බැරිද? මට ජානිස්කාරයාගේ ලන්තෑරුම මතක් විය. ලන්තෑරුම පත්තුකර රෑට අට්ටාලය මුදුනේ කොඩිය ලඟින් එල්ලා තබන්නට ඇත්නම්,යාත්‍රා වලට කොඩිය නොපෙනුණත් ලන්තෑරුම් එළියවත් පෙනෙනු ඇතැයි මට සිතිණ. මෙබඳු අමුතු එළියක් දකින යාත්‍රාවක් වෙතොත් එය ඒ ගැන විමසිලි මත් වනු නොඅනුමානය.

උදේ තේ බොන අතර ලන්තෑරුම එල්ලීමට පහසු උපක්‍රමයක් ගැන මම කල්පනා කළෙමි. ලිඳෙන් වතුර ගැනීමට දමා ඇති කප්පිය මගේ සිහියට ආවේය. එම කප්පිය ගලවාගෙන ඇවිත් අට්ටාලයේ සවිකරමුද? කප්පියෙන් වතුර අදිනවාට වඩා නිකම්ම වතුර ඇදීම අමාරු බව නොකිවමනාය. එසේ කළොත් පාත්තියට වතුර ටිකක් දැමීමත් ඇණහිට්නු ඇත. ලී කෑල්ලකින් තාවකාලික කප්පියක් සාදගෙනවත් සවිකර ගත යුතුය. එවිට හවසට ලන්තෑරුම පත්තුකර උඩට යවන්නටත් උදේට බාන්නටත් කෙතරම් පහසුද?

තේ බීමෙන් පසු අඟල් දෙකක පමණ අමු ලී කෑල්ලක් කපාගත් මම එහි බඩය අරන්දමා, නූල්රෝදයක මෙන් දෙකෙළවර මහතට සිටින සේ මැදින් ඇස සිහින්කර කෝටුවක අමුණාගැනීමෙන් කප්පියක් සාදගත්තෙමි. ඉක්බිති කොහුලණුවකුත් ගෙන අට්ටාලය මුදුනට නැග, කප්පිය එහි සවිකර, ලණුව එහි පටලවා ලණුකොන් දෙක පහළට හෙළා බිමට බැස්සෙමි. බිමදී ලණුවේ එක් කෙළවරක ලන්තෑරුම එල්ලා අනික් කෙළවරින් ඇද බැලූවිට; එය හොඳ අගේට අට්ටාලය මුදුනට නැංගේය. ලිඳෙන් වතුර ඇදීම පමණක් නොව කප්පියකින් ගතහැකි තවත් බොහෝ වැඩද තිබෙන බව ඒ අවස්ථාවේ නිමල්ට අවබෝධ කරදෙන්නට මට පුළුවන් විය.



එදින මුළු දවසම වාගේ අප ගතකළේ අට්ටාලය උඩය. නිමල් ගුවන්විදුලි යන්ත්‍රයද එහි ගෙන ගොස් බැඳ තබාගෙන, අළුත් දර්ශන වල රස විඳිමින් මෙන්ම අළුත් ගීත නිර්මාණය කරමින්ද කල් ගෙවූ අතර, මම අට්ටාලයේ පිරිද්දුම්වල දුර්වල තැන් සොයසොයා ඒවා තවත් හොඳට බැන්දෙමි.

රෑ වෙගෙන එනවිට ලන්තෑරුමට තෙල් පුරවා පත්තුකළ මම, උදේ අත්හද බැලූ ආකාරයට කප්පියේ ආධාරයෙන් එය අට්ටාලය මුදුනට යවා එහි රඳවා තැබීමි. ලන්තෑරුමේ එළිය මුහුදේ ඉතා ඈතට පෙනෙනු ඇතැයි ඒ අවස්ථාවේ මට සිතිණ. මේ වැඩෙන් පසු මට දැනුණේ අසීමිත සැහැල්ලුවකි. දවාලට කොඩියත්, රෑට ලන්තෑරුමත් දැන් අට්ටාලය මුදුනේ වැජඹෙන නිසා, සතියක් හමාරක් යනවිට කුමන හෝ යාත්‍රාවක් අපේ ගැලවීමට ඉදිරිපත් වනු ඇතැයි මට බලවත් විශ්වාසයක් ඇතිවිය.

මේ තරම් සිතට සැහැල්ලුවක් තිබියදීත් එද රෑත් මට නින්ද නොයාමේ රෝගය වැළඳිණ. මුට්ටි ඔරලෝසුවේ වේලාව බලබලා බොහෝ වේලාවක් නිදිනැතිව ඒ මේ අත පෙරලෙමින් සිටියෙමි. ඒ අතරතුර මගේ සිතේ පහළවී මැකීගිය කල්පනාවල් අනන්තය.

අළුත් එළවලු පාත්තිය සෑදීම සඳහා කපාපු කැලෑව දැන් මනාව වේලී ඇති නිසා එය හෙට ගිනිතැබිය යුතුයයි යන අදහස වරක් මගේ සිතට ඇතුළුවිය. ගිනිතබා බිම්කොටා, වම්බටු කර-

විල මැ බන්ඩක්කා යනාදී ඇට වර්ග සිටවූ විට, ඒවා පැලවී, අපේ සාත්තුව ලබමින් සරුවට හැදී මල්පල හටගන්නා ආකාරය මගේ සිතේ මැවී පෙනෙයි. දූන් පිරෙන්නට ලංව තිබෙන කොම්පෝස්ට් පෝර වලෙන් පෝර දමා, දිනපතා වතුරත් වත්කරන විට, වැඩිකලක් යන්නට මත්තෙන් අපට කෑමට පමණක් නොව අහක දමන්නටත් සෑහෙන්නට එළවලු ලැබෙන හැටි මට පෙනෙන්නට විය.

මෙය කෙතරම් නිශ්ඵල ක්‍රියාවක්දැයි ඊළඟ මොහොතේ සිතිණ. එතරම් මහන්සිවී වගා කිරීම, මෙහි තවදුරටත් රැඳීසිටින්නට කරන උත්සාහයක් නොවේද? කොඩිය හා ලන්තෑරුම කෙරෙහි පමණක් සම්පූර්ණ විශ්වාසය තබා බලාගෙන සිටීම සෑහේද? තවත් උපක්‍රම ගැන සිතිය යුතු නොවේද? කොඩිය නම් කාලයක් තිස්සේ අට්ටාලය මත වැනිවැනී පවතිනු ඇත. එහෙත් ලන්තෑරුම? අපේ ලාම්පුතෙල් ටික ඉවරවූ දිනක එය පත්තුකර තබන්නේ කෙසේද?

නිමල් දෙතුන්වරක් දහලා හිසද කසා අනික් පැත්තට හැරී ගොරවන්නට විය. මට නම් නින්ද අහලකවත් නැත. මම දොර ඇරගෙන එළියට ගොස් ඇවිත් මුට්ටි ඔරලෝසුව බැලුවෙමි. වේලාව රාත්‍රි දෙකට කිට්ටුය. නිදිමත ජාතියක් නැති හෙයින්, මම ලිප පත්තුකර තේවතුර උණුකරන්නට වීමි.



මුහුදේ රෑ ගමන් කරන යාත්‍රාවකට අපේ ලන්තෑරුම් එළිය අද රෑම පෙන්වා දී අපව ගලවා ගන්නට සලස්වන්නැයි මම දෙවියන්ට සිතින් කන්නලව් කළෙමි. පාළු දූපතක තනිවී සිටින මේ අහිංසක කොල්ලන් දෙදෙනාගේ අඳුරු අනාගතය අනේ දෙවියනි ඔබවහන්සේට පෙනෙන්නේ නැද්ද?

මම මීපැණි ටිකක් කා තේ බී නැවත බුරුඇදේ පෙරලුණෙමි. කොඩිය සහ ලන්තෑරුම අපේ එකම ගැලවුම්කාරයින් ලෙස හිතාගෙන බලා නොසිට, තවත් යම්කිසි ගැලවීමේ මගක් ගැන අදනම් එළිවෙන්නට කලින් කෙසේ හෝ තීරණයක් ගන්නා බවට මම දැඩි ලෙසට අධිෂ්ඨාන කරගතිමි.

ඈතට ශබ්දය ඇසෙන යම්කිසි උපකරණයක් හදා අට්ටාලයේ සවි කරන්නට ක්‍රමයක් නැද්ද? ඇයි, රුම්පෙත්තක්? රුම්පෙත්තක් හෙටම සෑදිය යුතුය.

ලී පතුරු දෙකකින් රුම්පෙත්තක් සාදගැනීම අමාරුවක් නොවනු ඇත. වෙසක් දිනවල අපි මේවා සාදපුරුදුය. හෙටම එකක් සාදගෙන අට්ටාලයේ සවිකළ යුතුය. මෙහි නිතරම සැරට සුළං හමන නිසා එය නොරතෝංචියක් නැතිව කැර කෙන ආකාරය මගේ සිතේ මැවී පෙනේ. රුම්පෙත්තේ මිටට කෝටුවක් සවිකර එය පරණ මාළුවින් දෙකක වදින්නට සැලැස්වූ විට, ‘‘ටොං-ටො-ටොං-ටොකට-ටොටොං’’ යන ගොරහැඬ

ශබ්දය නිකුත් කරමින් මුළු දූපත පුරාම දෝංකාර දෙනු ඇත. එවිට, කිට්ටුවෙන් යන යාත්‍රාවකට කොඩියයි ලන්තෑරුම් එළියයි යන දෙකම නොපෙනුනත්, රුම්පෙත්තේ ටොකටටොටොං නාදයවත් ඇසෙනු නොඅනුමානය. එමගින්වත් අපට ගැලවීමේ මාර්ගයක් උදවනු නිසැකය. මෙය හෙට උදේම පටන්ගත යුතුය. අළුත් එළවලු පාත්තිය යකාට ගියාවේ!

සිතුවිලි පඹගාලේ පැටලී සිටි මට යාන්තමට නින්ද යාගෙන එමින් තිබුණි. එක පාරටම, ඈත සිට එන කිසියම නුහුරු නුපුරුදු සිහින් හඬක් මගේ දෙසවන් පසාකර ගෙන ගියේය. මම තිගැස්සී අවදි උනෙමි. ශබ්දය දිගටම ඇසෙන්නට වූයෙන්, මම හිස ඔසවා මඳ වේලාවක් කන්දීගෙන සිටියෙමි. එය එන්නේ මාළුවාඩිය පැත්තෙනි. කිසියම් වාහනයකින් නිකුත්වන නළාහඬක් වැනි වුවද, එහි ඊට වඩා ගොරෝසු ගතියක් තිබේ. මම හෙමින් සීරුවේ නැගිට, දොර ඇරගෙන, මිදුලට බැස, අඳුරේම තවදුරටත් සවන් දීගෙන සිටියෙමි. ටික වේලාවකින් ශබ්දය නතර විය. එහෙත් විනාඩි දෙකකට පමණ පසු නැවත ඇසෙන්නට විය. මෙය නම් කිසියම් යාත්‍රාවකින් නිකුත්වන නළා හඬක්ම වියයුතුය. මෝටර් බෝට්ටුවක නළා හඬක්ද? අට්ටාලයේ ලන්තෑරුම් එළිය හඳුනාගෙන පැමිණි යාත්‍රාවක්ද? මේ වෙන්නට යන්නේ කුමක්ද?



නිමල් නිදා සිටියදීම, මම බියෙන්ද සැකයෙන්ද එහෙත් බලාපොරොත්තු සහගත හැඟීමෙන්ද යුක්තව අඩිපාර දිගේ මාළුවාඩිය දෙසට කළුවරේම පියනැඟුවෙමි. දැන්නම් ශබ්දය නතර වෙලාය. එහෙත් මම නොනැවතී ගමන් කළෙමි. මාළුවාඩිය ජේනමානයට ලංවූ විට, වෙරළේ වූ කිසියම් නොපැහැදිලි පුංචි එළියක් මගේ බැල්මට අසුවිය. තවත් ටිකක් කිට්ටුකර බැලූවිට, දෙතුන් දෙනෙකු කතාකරන හඬ ඇසෙන්නට විය. ඊළඟ මොහොතේදී, වෙරළේ නතරකර තිබුණු මෝටර් බෝට්ටුවක ඡායාව අඳුර අතරින් මම හඳුනාගත්තෙමි. වරෙක බියෙනුත් වරෙක ප්‍රීතියෙනුත් මගේ සිත පිරී ඉතිරී යන්නාක් මෙන් දැනුණි. අපේ ගැලවීමේ වාසනාවන්ත මොහොත ළඟා වෙලාද? එසේ නැතිනම්, තවත් කිසියම් විපත්තියක ආරමභය ලංවෙලාද?

මම බෝට්ටුව දෙසට තව ටිකක් කිට්ටුකර, පඳුරකට මුවාවී සිටගෙන ඔවුන්ගේ කතාබහට කන් දුනිමි. ඔවුන්ගේ වචන තේරුම් ගැනීමට තරම් මා කිට්ටු මදිය. ටික වේලාවකින් පසු, ඕනෑ දෙයක් සිදු උනාවේයි සිතාගත් මම, හැකිතරම් උස් හඬින් දිග හූවක් කීවෙමි. ඒ එක්කම බෝට්ටුවේ සිටි අය කලබල වූ බව ඔවුන්ගේ උස්වී ගිය කටහඬින් වැටහුණි. මොහොතකට පසු එක්කෙනෙක් හයියෙන් කතා කළේය.

''කවුද ඔතන? කවුද හූ කිව්වේ?''

මම නිසොල්මන්ව සිටියෙමි.

''කවුද හූ කිව්වෙ? බයවෙන්න එපා. කවුරු උනත් බය නැතුව එනවා එළියට. අපි හොරු නෙමෙයි. අපි ඇවිල්ල නාවික හමුදවෙ. පැට්‍රෝල් යන ගමං අර උඩ තියෙන එළිය දැකලයි ආවෙ. තමුසෙ කවුරු උනත් කමක් නෑ එනවා එළියට. අපිට ඕන මේ දූපතේ ඉන්නෙ කවුද කියල බලන්න විතරයි. අපි ආවෙ තමුසෙට උදව්වට . . .''

මොවුන් කියන්නේ ඇත්තමයයි මට දැන් විශ්වාසය. මේ මෝටර් බෝට්ටුව නාවික හමුදවේ එකක්ම විය යුතුය. කවුරු උනත් කමක් නෑ. මනුස්සයො නේද. යන්න ඕනෙ කිට්ටුවට. අල්ලං කාවියැ? මොවුන් සමග කොහේ යන්න උනත් කමක් නැත. මේකෙ ඉඳලා අතරමං වෙනවාට වඩා මිනිස්සු ඉන්න තැනකට යාගන්න එක නරකද?

මම පඳුරෙන් මෑත්වී මඳ අඳුරේම බෝට්ටුව දෙසට සෙමෙන් ගමන් කළෙමි. හදිසියේම බෝට්ටුවෙන් නිකුත්වූ විශාල ආලෝක ධාරාවක් වෙරළට යොමුවිය.

''ළමයෙක් නේද!''යි එක්කෙනෙක් කියනු ඇසිණ. තවෙකෙක් බෝට්ටුවෙන් බැස නොගැඹුරු වතුරේ ගොඩට ගමන් කරන්නට විය. ඔහු ලංවන්ට ලංවන්ට මගේ ගත වෙවුලන්නට විය. ඔහු මා ළඟටම පැමිණ මගේ අතක් අල්ලාගත්තේය. අල්ලාගෙන, ඉතා කරුණාවෙන් කතා කළේය.



''තමුසෙ කවුද අයිසෙ? මොනවද මේ දූපතේ තනියම කරන්නෙ? බය නැතුව කතා කරනව''.

මා පිළිතුරු දෙන්නට උත්සාහ කළද, මට කතාකර ගත නොහැකිව වචන හිරවිය. මට නිකම්ම ඇඬුණේය. ඒ දුටු ඔහු තවදුරටත් ප්‍රශ්න නොඅසා මාව අතින් අල්ලාගෙනම බෝට්ටුව වෙත කැඳවාගෙන ගියේය. එහි නාවික නිල ඇඳුමෙන් සැරසුණු පිරිස හතර දෙනෙක් වූහ. ඒ අතර මා කැටුව ගිය තැනැත්තා මට කෝපි කෝප්පයක් ගෙනැවිත් දුන්නේය. මම එය බොමින්, සියලු විස්තර ගොත ගස ගසා ඔවුන්ට කීමි. මා සිහි නැතිකර මෙහි ගෙනා අයුරු, කරවලවාඩියේ වැඩකළ අයුරු, අනික් අය පොලිසියෙන් පැන අල්ලාගෙන ගිය හැටි, අප දෙදෙන තනිවී ජීවත්වුණු හැටි ආදී සියලු විස්තර පවසද්දී ඔවුහු සාවධානව සවන් දීගෙන සිටියහ.

විස්තර හෙළිකිරීමෙන් පසු එක් නාවික හටයෙක් මා සමග බෝට්ටුවෙන් බැස, අපේ කාමරය වෙත පැමිණියේය. නිමල් බයවනු වැළැක්වීම පිණිස නාවික නිලධාරි මහතා මිදුලේ රඳවා, මම පමණක් කාමරයට ඇතුළුවීමි. ඉක්බිති කුප්පි ලාම්පුව පත්තුකොට නිමල්ව කුද්දගෙන, නිදිමත ගියාට පසු, සිදුවී ඇති දෙය ඔහුට හෙළි කළෙමි. මුලදී නැතිගත් ස්වාභාවයක් දක්වුවද, පසුව ඔහු ටිකෙන් ටික කරුණු අවබෝධ කරගනිමින් සතුටු වන්නට පටන් ගත්තේය.

අපි මෙතෙක් කල් පාළු දූපතට වී විනෝදය මුසු අඹදනමින් ගතකළ සැහැල්ලු ජීවිතයට ආයුබෝවන් කීමෙ අවස්ථාව දැන් උදවී ඇත. මෙතෙක් අපට රැකවරණය දුන් මුදලාලිගේ කාමරය, අප පරිහරණය කළ බඩුමුට්ටු, ආදරයෙන් සාත්තුකර හදවඩාගත් එළවලු පාත්තිය, අළුත් දර්ශන දැකගන්නට උදව් වූ අට්ටාලය, වෙලාව බලාගත් මුට්ටි ඔරලෝසුව යනාදී ලොකු කුඩා සියලුම වස්තු තව මොහොතකින් අතහැර දමා යා යුතුය. නිමල්ට කෙසේ වුවද මටනම් දැන් දැනෙන්නේ පාළුදූපතේ අනතුරුදයක ජීවිතයෙන් බේරීයාමේ ප්‍රීතියට වඩා, මේ සියල්ලෙන් වෙන්ව යාමෙ කණගාටුවය.

උදවී ඇති තත්වය ගැන නිමල් සමග සාකච්ඡා කිරිමෙන් පසු, නාවික නිලධාරි මහතා කාමරය ඇතුළට කැඳවාගෙන විත් වාඩිවෙන්නට සැලැස්වීමි. නිමල්ට කැමති ඕනෑම දෙයක් ගන්නට කී විට, ඔහු කැමරාව හා ගුවන්විදුලි යන්ත්‍රයද මීපැණි බෝතලයක්ද පොදිගසා ගත්තේය. මටනම් කිසිම දෙයක් ගෙන යන්නට ආසාවක් නොවීය. අපේ එකම ගැලවුම්කාරයා වූ අට්ටාලයේ දැල්වෙමින් තිබුණු ලන්තෑරුම බිමට බා නිවා තබා, කාමරයේ දෙරද වසා අපි ගමනට පිටත් වීමු. මගේ දෙනෙතින් බේරුණු කඳුලුබිඳු අනික් දෙදෙනට පෙනේදෝයි බියෙන් මම කළුවරේම දෑස් පිසද ගතිමි.



නාවික නිලධාරි මහතාගේ විදුලිපන්දම් එළියේ ආධාරයෙන් අපි තිදෙන අඩිපාර දිගේ ගමන් කොට මෝටර් බෝට්ටුවට ගොඩ වුනෙමු. අපට නැවතත් කෝපි කෝප්පය බැගින් ලැබුණේය. ඒ හා සමගම ඇන්ජිම පණගන්වා වටබාගයක් කැරකුණු බෝට්ටුව මොහොතකින් ගමනාරම්භ කළේය. මගේ ජීවිතයද වට බාගයක් කැරකී වෙනතක ගමන් කරන්නට පටන්ගත්තාක් මෙන් මට දැනිණ.

දූපතෙන් ඈත්වන්ට ඈත්වන්ට, එහි ගතකළ ජීවිතය ටිකෙන් ටික මගේ මතකයෙන් ගිලිහෙයි. ඒ වෙනුවට මගේ සිතට දැන් ඇතුළුවන්නේ ගෙදර දෙර හා ඥාතිමිත්‍රාදීන් පිළිබඳ යටපත්වී තිබුණු මතක සටහන්ය. ඔවුන් ඉදිරියේ මගේ ත්‍රාසජනක අත්දැකීම් විස්තර කරනතුරු දැන් මට නිනව්වක් නැත. අම්මලා මාව දැක අතිශය ප්‍රීතියට පත්වන අයුරු, නොයෙක් කෑම්බීම් වලින් මට සංග්‍රහ කරන අයුරු, මාව වටකර ගෙන මොකද උනේ කොහේද ගියේ මොනවද කැවේ යනාදී දහසක් ප්‍රශ්න මාවෙත විසිකරමින් මාව හෙම්බත් කරන අයුරු රිදී තිරයේ චිත්‍රපටයක් දිග ඇරෙන්නාක් මෙන් මගේ සිතේ මැවිමැවී පෙනෙයි. මෙතෙක් කලක් මගේ තනි නොතනියට සිටි, දුක සැප එකට බෙදගෙන එකට ජීවත්වූ, මගේ එකම සහායකයා වූත් එකම ගෝලයා වූත් නිමල්ගෙන් වෙන්වී යාමේ දුකත් අතරින් පතර මට දැනෙයි. එහෙත් ඔහුට නම් එබඳු හැඟීමක් දැනෙනවාදැයි මට සැකය. ඔහු වාඩිවූ තැනම නිදි කිරමින් සිටියි.

පැයක පමණ මුහුදු ගමනකින් පසු අපි ශ්‍රී ලංකාවේ වෙරළට ළඟාවීමු. අපව පුත්තලම පොලිසියට භාරදෙනවාට කැමතිදැයි නාවික හමුදා නිලධාරි මහත්වරුන් විමසූවිට, අපි දෙදෙනාම එයට කැමැත්ත ප්‍රකාශ කළෙමු. ඒ අනුව, බෝට්ටුව පුත්තලම වෙරළේ නතරකළ පසු, ඔවුන්ගෙන් එක්කෙනෙක් අප කැඳවාගෙන පුත්තලම පොලිසියට පයින්ම ගොස්, එහි පොලිස් නිලධාරි මහතකුට භාරදී, අපෙන් සමුගෙන වෙන්වී ගියේය. පොලිස් නිලධාරි මහතා අපේ තොරතුරු අසා සටහන් කරගෙන, අනුරාධපුර හා පොල්ගහවෙල පොලිස්ථාන වලට දුරකථනයෙන් කතාකොට, අපේ දෙමාපියන්ට දැනුම්දෙන ලෙස ඉල්ලීය.

උදේ නවය පමණ වනවිට, අපේ අම්මා සහ අයියා කුලී රියකින් පුත්තලම පොලිස් ස්ථානයට පැමිණියහ. අම්මා මා දුටුහැටියේ අඬාගෙන වින් මාව තුරුල් කරගෙන නැවතත් අඬන්නට වූවාය. සුළු වේලාවකින් මම නිමල්ගෙන් සමුගෙන අම්මලා සමග කුලීරියට නැගී ගෙදර බලා පිටත්වීමි.

---

